

# අ.පො.ස (සා.පෙළ) විභාගය - 2015

# ඇගයීම් වාර්තාව

# 33 - ඉතිහාසය




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව.

# අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2015

## ඇගයීම් වාර්තාව

# 33 - ඉතිහාසය




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව.

# අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2015

## ඇගයීම් වාර්තාව

# 33 - ඉතිහාසය




පර්යේෂණ හා සංවර්ධන ශාඛාව
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව.

**ඉතිහාසය**

ඇගයීම් වාර්තාව - අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2015

මූල්‍ය අනුග්‍රහය

අනාගත දැනුම් කේන්ද්‍රීය පදනම ලෙස පාසල් පද්ධතිය ප්‍රතිනිර්මාණය කිරීමේ ව්‍යාපෘතිය (TSEP-WB) මගිනි

# හැඳින්වීම

ශ්‍රී ලංකාවේ ප්‍රසිද්ධ විභාග අතුරින් වැඩි ම අයදුම්කරුවන් සංඛ්‍යාවක් පෙනී සිටින්නේ අ.පො.ස.(සා.පෙළ) විභාගය සඳහා ය. ජාතික මට්ටමින් පැවැත්වෙන මෙම විභාගයේ ප්‍රතිඵල මත නිකුත් කෙරෙන සහතිකය, උසස් අධ්‍යාපනය සඳහා සුදුස්සන් තෝරා ගැනීමට පමණක් නොව මධ්‍යම මට්ටමේ රැකියා අවස්ථා ලබාගැනීමට ද ජාතික හා ජාත්‍යන්තර විශ්වවිද්‍යාලවල සමහර පාඨමාලා හැදෑරීමට මූලික සුදුසුකමක් ලෙස සැලකෙන මිනුම් දණ්ඩක් වශයෙන් ද පිළිගැනේ. මෙලෙස පිළිගැනෙන්නේ මෙම විභාගයේ ඇති වලංගුතාව හා විශ්වසනීයතාව මෙන් ම ඉහළ ගුණාත්මක බව ද හේතුවෙනි.

මෙම විභාගයෙන් උසස් සාධන මට්ටමක් ලබා ගැනීම සඳහා සිසුහු ද ඔවුන්ගේ එම අපේක්ෂා සපුරාලීම සඳහා ගුරුවරු හා දෙමව්පියෝ ද දැඩි වෙහෙසක් දරති. මෙම ඇගයීම් වාර්තාව සකස්කර ඇත්තේ ඔවුන්ගේ එම අපේක්ෂා ඉටුකරගැනීම පිණිස ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ සහාය දීමක් වශයෙනි. මෙම ඇගයීම් වාර්තාවේ ඇතුළත් තොරතුරු විභාග අපේක්ෂකයින්ට, ගුරු භවතුන්ට, විදුහල්පතිවරුන්ට, ගුරු උපදේශක මහත්ම මහත්මීන්ට, විෂයභාර අධ්‍යක්ෂවරුන්ට, දෙගුරුන්ට හා අධ්‍යාපන පර්යේෂකයින්ට එක සේ ප්‍රයෝජනවත් වනු නොඅනුමාන ය. මේ නිසා මෙම වාර්තාව වැඩි පිරිසකගේ පරිශීලනය සඳහා පුස්තකාලයට යොමු කිරීම වඩාත් සුදුසු වේ.

මෙම ඇගයීම් වාර්තාව කොටස් තුනකින් යුක්ත වන අතර විෂය අභිමතාර්ථ සහ විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු ද මෙම විෂයයෙහි ප්‍රශ්න පත්‍ර ඇසුරෙන් අයදුම්කරුවන්ගේ සාධනය, එක් එක් ප්‍රශ්නය සඳහා වෙන් වෙන්ව ද මෙහි I කොටසෙහි ඇතුළත් වේ. ඇගයීම් හා පරීක්ෂණ ක්ෂේත්‍රයේ භාවිත වන සම්භාව්‍ය පරීක්ෂණ න්‍යාය (Classical Test Theory) සහ අයිතම ප්‍රතිචාර න්‍යාය (Item Response Theory) පදනම් කරගෙන, විභාග දෙපාර්තමේන්තුවේ පර්යේෂණ හා සංවර්ධන ශාඛාව මඟින් මෙම විශ්ලේෂණ සිදුකර ඇත.

ඉතිහාසය විෂයයෙහි I හා II ප්‍රශ්න පත්‍ර සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටි, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා ප්‍රතිපෝෂණය සඳහා වූ යෝජනාවලින් මෙම වාර්තාවෙහි II කොටස සමන්විත වේ.

ප්‍රශ්න පත්‍රවල එක් එක් ප්‍රශ්නයට පිළිතුරු සැපයීමේ දී අපේක්ෂකයන් සැලකිලිමත් විය යුතු කරුණු ද ඉගෙනුම් ඉගැන්වීම් කාර්යය පිළිබඳ අදහස් හා යෝජනා ද මෙම වාර්තාවෙහි III කොටසෙහි ඇතුළත් කර ඇත. විවිධ නිපුණතා හා එම නිපුණතා මට්ටම්වලට ළඟාවීම සඳහා ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය සංවිධානය කරගත යුතු ආකාරය පිළිබඳ ව මෙයින් මහත් පිටිවහලක් ලැබෙනු ඇතැයි සිතමි.

මෙම වාර්තාවේ ගුණාත්මක බව වැඩි දියුණු කිරීම සඳහා ඵලදායී අදහස් හා යෝජනා අප වෙත යොමුකරන ලෙස ඉල්ලමි. මෙම වාර්තාව සකස් කිරීම සඳහා කැප වූ පාලක පරීක්ෂකවරුන් ඇතුළු සම්පත් දායකයින්ටත් RD ආකෘති මගින් තොරතුරු සැපයූ ප්‍රධාන/ අතිරේක ප්‍රධාන/ සහකාර පරීක්ෂකවරුන්ටත් ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ නිලධාරීන් ඇතුළු කාර්ය මණ්ඩලයේ සියලු ම දෙනාටත් මාගේ හෘදයංගම ස්තුතිය පළ කරමි.

ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර
විභාග කොමසාරිස් ජනරාල්

2016 නොවැම්බර් 30
පර්යේෂණ හා සංවර්ධන ශාඛාව,
ජාතික ඇගයීම් හා පරීක්ෂණ සේවාව,
ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව,
පැලවත්ත,
බත්තරමුල්ල.

උපදේශකත්වය : ඩබ්ලිව්.එම්.එන්.ජේ. පුෂ්පකුමාර
විභාග කොමසාරිස් ජනරාල්

මෙහෙයවීම හා සංවිධානය : ගයාත්‍රි අබේගුණසේකර
විභාග කොමසාරිස්
(පර්යේෂණ හා සංවර්ධන)

සම්බන්ධීකරණය : ලසික සමරකෝන්
සහකාර විභාග කොමසාරිස්

සංස්කරණය : ආර්.ඒ. චන්ද්‍රසිරි
ගුරු උපදේශක
කොට්ඨාස අධ්‍යාපන කාර්යාලය
මරඳගහමුල

සැකසුම් කමිටුව : ජී.ජී. සිරිමාවතී
ගුරු සේවය
බප/ගම්/ බණ්ඩාරනායක මධ්‍ය මහා විද්‍යාලය
වේයන්ගොඩ

පී.ඒ. ලක්ෂ්මි හේමලතා
ගුරු සේවය (විශ්‍රාමික)
බප/මීග/ සාන්ත සෙබස්තියන් බාලිකා මහා විද්‍යාලය
කඳාන

බී.ඒ. චන්ද්‍රසිරි බමුණුසිංහ
ගුරු සේවය (විශ්‍රාමික)
ර/ ඇහැළියගොඩ මධ්‍ය මහා විද්‍යාලය
ඇහැළියගොඩ

පරිගණක පිටපත සැකසුම : පී. මධුශානී මණ්ඩලවත්ත
පරිගණක දත්ත සටහන් ක්‍රියාකරු

පිටකවරය නිර්මාණය : වයි.එස්. අනුරාධි
සංවර්ධන නිලධාරී

## ඇතුළත පිටු

පිටු අංකය

### I කොටස



### II කොටස



### III කොටස

## I කොටස

## 1. විෂය අභිමතාර්ථ හා විෂය සාධනය පිළිබඳ තොරතුරු

### 1.1 ඉතිහාසය විෂයයෙහි අභිමතාර්ථ

- ★ ඓතිහාසික විකාශය හා ප්‍රවණතා පිළිබඳ විමර්ශනයෙහි යෙදෙයි.
- ★ වර්තමානය තේරුම් ගැනීම සඳහා අතීතය පිළිබඳ විමර්ශනාත්මක දැනුම උපයෝගී කර ගනියි.
- ★ ජාතික ප්‍රශ්න දෙස තුලනාත්මක ව විමසා බලමින් කටයුතු කරයි.
- ★ වැදගත් ඓතිහාසික පුද්ගලයන්ගේ චරිතාපදාන ආදර්ශයට ගෙන කටයුතු කරයි.
- ★ ජාතික අනන්‍යතාව හඳුනාගෙන ඒවා අගය කරමින් චරිතායනය කරයි.
- ★ ඉතිහාසයේ අත්දැකීම් වර්තමාන සංසිද්ධි සඳහා ඵලදායි ලෙස භාවිත කරයි.
- ★ ශ්‍රී ලංකාවේ ඓතිහාසික වටිනාකම් හා හර පද්ධති පිළිබඳ අභිමානවත් හැඟුමින් යුක්තව කටයුතු කරයි.
- ★ විචාරශීලී හා විවේචනාත්මක චින්තන සංකල්ප වර්ධනය කර ගනියි.
- ★ ඓතිහාසික තොරතුරු ඇසුරින් ස්ථාන හඳුනාගැනීමේ හැකියාව දියුණු කරයි.

## 1.2 විෂය සාධනය පිළිබඳ සංඛ්‍යානමය තොරතුරු

### 1.2.1 විෂය සඳහා පෙනී සිටි අයදුම්කරුවන් සංඛ්‍යාව

| මාධ්‍යය | පාසල් | පෞද්ගලික | එකතුව |
|---|---|---|---|
| සිංහල | 224274 | 5644 | 229918 |
| දෙමළ | 67031 | 13735 | 80766 |
| ඉංග්‍රීසි | 509 | 4349 | 4858 |
| එකතුව | **291814** | **23728** | **315542** |

වගුව 1

### 1.2.2 අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය

| ශ්‍රේණිය | පාසල් අයදුම්කරුවන් | | පෞද්ගලික අයදුම්කරුවන් | | එකතුව | ප්‍රතිශතය |
|---|---|---|---|---|---|---|
| | සංඛ්‍යාව | ප්‍රතිශතය | සංඛ්‍යාව | ප්‍රතිශතය | | |
| A | 40943 | 14.03 | 560 | 2.36 | 41503 | 13.15 |
| B | 30482 | 10.45 | 756 | 3.19 | 31238 | 9.9 |
| C | 60317 | 20.67 | 2589 | 10.91 | 62906 | 19.94 |
| S | 79998 | 27.41 | 7144 | 30.11 | 87142 | 27.62 |
| W | 80074 | 27.44 | 12679 | 53.43 | 92753 | 29.39 |
| එකතුව | **291814** | **100.00** | **23728** | **100.00** | **315542** | **100.00** |

වගුව 2

1.2.3 ප්‍රථම වරට පෙනීසිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - දිස්ත්‍රික්ක අනුව

| දිස්ත්‍රික්කය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | අසමත් (F) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 31074 | 7320 | 23.56 | 4060 | 13.07 | 6646 | 21.39 | 6888 | 22.17 | 24914 | 80.18 | 6160 | 19.82 |
| 2. ගම්පහ | 26669 | 4330 | 16.24 | 3068 | 11.50 | 5697 | 21.36 | 6712 | 25.17 | 19807 | 74.27 | 6862 | 25.73 |
| 3. කළුතර | 15262 | 2601 | 17.04 | 1859 | 12.18 | 3233 | 21.18 | 3925 | 25.72 | 11618 | 76.12 | 3644 | 23.88 |
| 4. මහනුවර | 18803 | 3054 | 16.24 | 2173 | 11.56 | 4159 | 22.12 | 4833 | 25.70 | 14219 | 75.62 | 4584 | 24.38 |
| 5. මාතලේ | 6416 | 759 | 11.83 | 654 | 10.19 | 1325 | 20.65 | 1784 | 27.81 | 4522 | 70.48 | 1894 | 29.52 |
| 6. නුවරඑළිය | 9421 | 927 | 9.84 | 909 | 9.65 | 2052 | 21.78 | 2848 | 30.23 | 6736 | 71.50 | 2685 | 28.50 |
| 7. ගාල්ල | 14938 | 2501 | 16.74 | 1725 | 11.55 | 3327 | 22.27 | 3866 | 25.88 | 11419 | 76.44 | 3519 | 23.56 |
| 8. මාතර | 11357 | 2124 | 18.70 | 1443 | 12.71 | 2544 | 22.40 | 2782 | 24.50 | 8893 | 78.30 | 2464 | 21.70 |
| 9. හම්බන්තොට | 8505 | 1223 | 14.38 | 1048 | 12.32 | 2018 | 23.73 | 2353 | 27.67 | 6642 | 78.10 | 1863 | 21.90 |
| 10. යාපනය | 9773 | 1522 | 15.57 | 1073 | 10.98 | 1765 | 18.06 | 2287 | 23.40 | 6647 | 68.01 | 3126 | 31.99 |
| 11. කිලිනොච්චි | 2177 | 106 | 4.87 | 168 | 7.72 | 369 | 16.95 | 564 | 25.91 | 1207 | 55.44 | 970 | 44.56 |
| 12. මන්නාරම | 1639 | 154 | 9.40 | 137 | 8.36 | 361 | 22.03 | 493 | 30.08 | 1145 | 69.86 | 494 | 30.14 |
| 13. වව්නියාව | 2533 | 315 | 12.44 | 263 | 10.38 | 473 | 18.67 | 692 | 27.32 | 1743 | 68.81 | 790 | 31.19 |
| 14. මුලතිව් | 1620 | 113 | 6.98 | 118 | 7.28 | 266 | 16.42 | 434 | 26.79 | 931 | 57.47 | 689 | 42.53 |
| 15. මඩකලපුව | 7171 | 862 | 12.02 | 703 | 9.80 | 1373 | 19.15 | 1961 | 27.35 | 4899 | 68.32 | 2272 | 31.68 |
| 16. අම්පාර | 8870 | 972 | 10.96 | 923 | 10.41 | 1979 | 22.31 | 2557 | 28.83 | 6431 | 72.50 | 2439 | 27.50 |
| 17. ත්‍රිකුණාමලය | 5655 | 464 | 8.21 | 467 | 8.26 | 1132 | 20.02 | 1635 | 28.91 | 3698 | 65.39 | 1957 | 34.61 |
| 18. කුරුණෑගල | 21725 | 3219 | 14.82 | 2401 | 11.05 | 4958 | 22.82 | 6192 | 28.50 | 16770 | 77.19 | 4955 | 22.81 |
| 19. පුත්තලම | 10006 | 1235 | 12.34 | 961 | 9.60 | 2001 | 20.00 | 2786 | 27.84 | 6983 | 69.79 | 3023 | 30.21 |
| 20. අනුරාධපුරය | 11540 | 1308 | 11.33 | 1228 | 10.64 | 2670 | 23.14 | 3353 | 29.06 | 8559 | 74.17 | 2981 | 25.83 |
| 21. පොළොන්නරුව | 5013 | 561 | 11.19 | 482 | 9.62 | 1086 | 21.66 | 1484 | 29.60 | 3613 | 72.07 | 1400 | 27.93 |
| 22. බදුල්ල | 12042 | 1125 | 9.34 | 1113 | 9.24 | 2600 | 21.59 | 3600 | 29.90 | 8438 | 70.07 | 3604 | 29.93 |
| 23. මොනරාගල | 6191 | 535 | 8.64 | 515 | 8.32 | 1323 | 21.37 | 1779 | 28.74 | 4152 | 67.07 | 2039 | 32.93 |
| 24. රත්නපුරය | 13783 | 1773 | 12.86 | 1459 | 10.59 | 2925 | 21.22 | 3761 | 27.29 | 9918 | 71.96 | 3865 | 28.04 |
| 25. කෑගල්ල | 11006 | 1787 | 16.24 | 1347 | 12.24 | 2407 | 21.87 | 2885 | 26.21 | 8426 | 76.56 | 2580 | 23.44 |
| **සමස්ත දිවයින** | **273189** | **40890** | **14.97** | **30297** | **11.09** | **58689** | **21.48** | **72454** | **26.52** | **202330** | **74.06** | **70859** | **25.94** |

වගුව 3

### 1.2.4 ප්‍රථමවරට පෙනී සිටි පාසල් අයදුම්කරුවන් ශ්‍රේණි ලබාගෙන ඇති ආකාරය - අධ්‍යාපන කලාපය අනුව

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 1. කොළඹ | 14473 | 4369 | 30.19 | 1990 | 13.75 | 2775 | 19.17 | 2763 | 19.09 | 11897 | 82.2 | 2576 | 17.8 |
| 2. හෝමාගම | 3590 | 404 | 11.25 | 327 | 9.11 | 777 | 21.64 | 972 | 27.08 | 2480 | 69.08 | 1110 | 30.92 |
| 3. ශ්‍රී ජයවර්ධනපුර | 7256 | 1518 | 20.92 | 1040 | 14.33 | 1766 | 24.34 | 1717 | 23.66 | 6041 | 83.26 | 1215 | 16.74 |
| 4. පිළියන්දල | 5755 | 1031 | 17.91 | 704 | 12.23 | 1328 | 23.08 | 1433 | 24.9 | 4496 | 78.12 | 1259 | 21.88 |
| 5. ගම්පහ | 7542 | 1911 | 25.34 | 1017 | 13.48 | 1609 | 21.33 | 1595 | 21.15 | 6132 | 81.3 | 1410 | 18.7 |
| 6 මිනුවන්ගොඩ | 5079 | 597 | 11.75 | 588 | 11.58 | 1175 | 23.13 | 1352 | 26.62 | 3712 | 73.09 | 1367 | 26.91 |
| 7. මීගමුව | 6985 | 799 | 11.44 | 676 | 9.68 | 1389 | 19.89 | 1897 | 27.16 | 4761 | 68.16 | 2224 | 31.84 |
| 8. කැලණිය | 7063 | 1027 | 14.54 | 784 | 11.1 | 1524 | 21.58 | 1871 | 26.49 | 5206 | 73.71 | 1857 | 26.29 |
| 9. කළුතර | 7677 | 1255 | 16.35 | 961 | 12.52 | 1625 | 21.17 | 1970 | 25.66 | 5811 | 75.69 | 1866 | 24.31 |
| 10. මතුගම | 3051 | 596 | 19.53 | 362 | 11.86 | 649 | 21.27 | 810 | 26.55 | 2417 | 79.22 | 634 | 20.78 |
| 11. හොරණ | 4534 | 750 | 16.54 | 536 | 11.82 | 962 | 21.22 | 1142 | 25.19 | 3390 | 74.77 | 1144 | 25.23 |
| 12. මහනුවර | 6947 | 2105 | 30.3 | 1049 | 15.1 | 1537 | 22.12 | 1359 | 19.56 | 6050 | 87.09 | 897 | 12.91 |
| 13. දෙනුවර | 1873 | 161 | 8.6 | 201 | 10.73 | 390 | 20.82 | 524 | 27.98 | 1276 | 68.13 | 597 | 31.87 |
| 14. ගම්පොල | 3176 | 266 | 8.38 | 263 | 8.28 | 656 | 20.65 | 889 | 27.99 | 2074 | 65.3 | 1102 | 34.7 |
| 15. තෙල්දෙණිය | 1621 | 71 | 4.38 | 109 | 6.72 | 340 | 20.97 | 519 | 32.02 | 1039 | 64.1 | 582 | 35.9 |
| 16. වත්තේගම | 2312 | 237 | 10.25 | 250 | 10.81 | 547 | 23.66 | 690 | 29.84 | 1724 | 74.57 | 588 | 25.43 |
| 17. කටුගස්තොට | 2874 | 217 | 7.55 | 300 | 10.44 | 688 | 23.94 | 851 | 29.61 | 2056 | 71.54 | 818 | 28.46 |
| 18. මාතලේ | 3470 | 568 | 16.37 | 424 | 12.22 | 732 | 21.1 | 929 | 26.77 | 2653 | 76.46 | 817 | 23.54 |
| 19. ගලේවෙල | 1940 | 134 | 6.91 | 148 | 7.63 | 383 | 19.74 | 561 | 28.92 | 1226 | 63.2 | 714 | 36.8 |
| 20. නාඋල | 452 | 23 | 5.09 | 45 | 9.96 | 106 | 23.45 | 132 | 29.2 | 306 | 67.7 | 146 | 32.3 |
| 21. විල්ගමුව | 554 | 34 | 6.14 | 38 | 6.86 | 103 | 18.59 | 162 | 29.24 | 337 | 60.83 | 217 | 39.17 |
| 22. නුවරඑළිය | 2627 | 271 | 10.32 | 274 | 10.43 | 626 | 23.83 | 735 | 27.98 | 1906 | 72.55 | 721 | 27.45 |
| 23. කොත්මලේ | 1288 | 125 | 9.7 | 125 | 9.7 | 279 | 21.66 | 396 | 30.75 | 925 | 71.82 | 363 | 28.18 |
| 24. හැටන් | 2709 | 256 | 9.45 | 256 | 9.45 | 593 | 21.89 | 851 | 31.41 | 1956 | 72.2 | 753 | 27.8 |
| 25. වලපනේ | 1299 | 91 | 7.01 | 107 | 8.24 | 309 | 23.79 | 410 | 31.56 | 917 | 70.59 | 382 | 29.41 |
| 26. හඟුරන්කෙත | 1498 | 184 | 12.28 | 148 | 9.88 | 244 | 16.29 | 457 | 30.51 | 1033 | 68.96 | 465 | 31.04 |
| 27. ගාල්ල | 6899 | 1572 | 22.79 | 897 | 13 | 1503 | 21.79 | 1547 | 22.42 | 5519 | 80 | 1380 | 20 |
| 28. ඇල්පිටිය | 3117 | 333 | 10.68 | 297 | 9.53 | 684 | 21.94 | 944 | 30.29 | 2258 | 72.44 | 859 | 27.56 |
| 29. අම්බලන්ගොඩ | 3155 | 415 | 13.15 | 341 | 10.81 | 707 | 22.41 | 867 | 27.48 | 2330 | 73.85 | 825 | 26.15 |
| 30. උඩුගම | 1767 | 183 | 10.36 | 188 | 10.64 | 433 | 24.5 | 508 | 28.75 | 1312 | 74.25 | 455 | 25.75 |
| 31. මාතර | 5137 | 1277 | 24.86 | 726 | 14.13 | 1151 | 22.41 | 1082 | 21.06 | 4236 | 82.46 | 901 | 17.54 |
| 32. අකුරැස්ස | 1964 | 373 | 18.99 | 249 | 12.68 | 401 | 20.42 | 502 | 25.56 | 1525 | 77.65 | 439 | 22.35 |
| 33. මුලටියන-හක්මණ | 1988 | 275 | 13.83 | 271 | 13.63 | 492 | 24.75 | 545 | 27.41 | 1583 | 79.63 | 405 | 20.37 |
| 34. මොරවක-දෙනියාය | 2268 | 200 | 8.82 | 197 | 8.69 | 501 | 22.09 | 652 | 28.75 | 1550 | 68.34 | 718 | 31.66 |
| 35. තංගල්ල | 2400 | 345 | 14.38 | 300 | 12.5 | 569 | 23.71 | 654 | 27.25 | 1868 | 77.83 | 532 | 22.17 |
| 36. හම්බන්තොට | 3616 | 428 | 11.84 | 377 | 10.43 | 772 | 21.35 | 1074 | 29.7 | 2651 | 73.31 | 965 | 26.69 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 37. වලස්මුල්ල | 2489 | 451 | 18.12 | 370 | 14.87 | 678 | 27.24 | 624 | 25.07 | 2123 | 85.3 | 366 | 14.7 |
| 38. යාපනය | 3516 | 797 | 22.67 | 490 | 13.94 | 698 | 19.85 | 789 | 22.44 | 2774 | 78.9 | 742 | 21.1 |
| 39. දූපත් | 712 | 30 | 4.21 | 59 | 8.29 | 113 | 15.87 | 178 | 25 | 380 | 53.37 | 332 | 46.63 |
| 40. තෙන්මාරච්චි | 1004 | 142 | 14.14 | 100 | 9.96 | 196 | 19.52 | 240 | 23.9 | 678 | 67.53 | 326 | 32.47 |
| 41. වලිකාමන් | 2906 | 248 | 8.53 | 250 | 8.6 | 459 | 15.79 | 732 | 25.19 | 1689 | 58.12 | 1217 | 41.88 |
| 42. වඩමරච්චි | 1635 | 306 | 18.72 | 174 | 10.64 | 298 | 18.23 | 348 | 21.28 | 1126 | 68.87 | 509 | 31.13 |
| 43. කිලිනොච්චි | 2177 | 106 | 4.87 | 168 | 7.72 | 369 | 16.95 | 564 | 25.91 | 1207 | 55.44 | 970 | 44.56 |
| 44. මන්නාරම | 1323 | 141 | 10.66 | 117 | 8.84 | 323 | 24.41 | 380 | 28.72 | 961 | 72.64 | 362 | 27.36 |
| 45. මඩු | 312 | 13 | 4.17 | 21 | 6.73 | 42 | 13.46 | 111 | 35.58 | 187 | 59.94 | 125 | 40.06 |
| 46. වව්නියාව දකුණ | 2061 | 287 | 13.93 | 218 | 10.58 | 381 | 18.49 | 581 | 28.19 | 1467 | 71.18 | 594 | 28.82 |
| 47. වව්නියාව උතුර | 485 | 28 | 5.77 | 45 | 9.28 | 92 | 18.97 | 115 | 23.71 | 280 | 57.73 | 205 | 42.27 |
| 48. මුලතිව් | 1124 | 84 | 7.47 | 82 | 7.3 | 176 | 15.66 | 291 | 25.89 | 633 | 56.32 | 491 | 43.68 |
| 49. තුනුක්කායි | 496 | 29 | 5.85 | 36 | 7.26 | 90 | 18.15 | 143 | 28.83 | 298 | 60.08 | 198 | 39.92 |
| 50. මඩකලපුව | 2152 | 334 | 15.52 | 229 | 10.64 | 376 | 17.47 | 586 | 27.23 | 1525 | 70.86 | 627 | 29.14 |
| 51. කල්කුඩා | 1070 | 73 | 6.82 | 57 | 5.33 | 197 | 18.41 | 328 | 30.65 | 655 | 61.21 | 415 | 38.79 |
| 52. පදිරිප්පු | 1356 | 109 | 8.04 | 135 | 9.96 | 256 | 18.88 | 360 | 26.55 | 860 | 63.42 | 496 | 36.58 |
| 53. මඩකලපුව (මධ්‍යම) | 1651 | 326 | 19.75 | 248 | 15.02 | 434 | 26.29 | 429 | 25.98 | 1437 | 87.04 | 214 | 12.96 |
| 54. මඩකලපුව (බටහිර) | 942 | 21 | 2.23 | 33 | 3.5 | 111 | 11.78 | 257 | 27.28 | 422 | 44.8 | 520 | 55.2 |
| 55. අම්පාර | 2175 | 233 | 10.71 | 212 | 9.75 | 502 | 23.08 | 633 | 29.1 | 1580 | 72.64 | 595 | 27.36 |
| 56. කල්මුනේ | 2148 | 424 | 19.74 | 307 | 14.29 | 518 | 24.12 | 516 | 24.02 | 1765 | 82.17 | 383 | 17.83 |
| 57. සමන්තුරෙයි | 1267 | 83 | 6.55 | 135 | 10.66 | 280 | 22.1 | 360 | 28.41 | 858 | 67.72 | 409 | 32.28 |
| 58. මහඔය | 522 | 24 | 4.6 | 30 | 5.75 | 89 | 17.05 | 196 | 37.55 | 339 | 64.94 | 183 | 35.06 |
| 59. දෙහිඅත්තකණ්ඩිය | 862 | 40 | 4.64 | 61 | 7.08 | 167 | 19.37 | 272 | 31.55 | 540 | 62.65 | 322 | 37.35 |
| 60. අක්කරෙයිපත්තුව | 1064 | 104 | 9.77 | 119 | 11.18 | 258 | 24.25 | 348 | 32.71 | 829 | 77.91 | 235 | 22.09 |
| 61. තිරුක්කෝවිල් | 832 | 64 | 7.69 | 59 | 7.09 | 165 | 19.83 | 232 | 27.88 | 520 | 62.5 | 312 | 37.5 |
| 62. ත්‍රිකුණාමලය | 1690 | 191 | 11.3 | 168 | 9.94 | 375 | 22.19 | 451 | 26.69 | 1185 | 70.12 | 505 | 29.88 |
| 63. මුතූර් | 1217 | 98 | 8.05 | 86 | 7.07 | 224 | 18.41 | 340 | 27.94 | 748 | 61.46 | 469 | 38.54 |
| 64. කන්තලේ | 879 | 58 | 6.6 | 76 | 8.65 | 191 | 21.73 | 267 | 30.38 | 592 | 67.35 | 287 | 32.65 |
| 65. කින්නියා | 1298 | 90 | 6.93 | 108 | 8.32 | 270 | 20.8 | 401 | 30.89 | 869 | 66.95 | 429 | 33.05 |
| 66. ත්‍රිකුණාමලය (උතුර) | 571 | 27 | 4.73 | 29 | 5.08 | 72 | 12.61 | 176 | 30.82 | 304 | 53.24 | 267 | 46.76 |
| 67. කුරුණෑගල | 5418 | 1233 | 22.76 | 616 | 11.37 | 1186 | 21.89 | 1288 | 23.77 | 4323 | 79.79 | 1095 | 20.21 |
| 68. කුලියාපිටිය | 3896 | 568 | 14.58 | 418 | 10.73 | 879 | 22.56 | 1113 | 28.57 | 2978 | 76.44 | 918 | 23.56 |
| 69. නිකවැරටිය | 2592 | 316 | 12.19 | 334 | 12.89 | 677 | 26.12 | 745 | 28.74 | 2072 | 79.94 | 520 | 20.06 |
| 70. මහව | 3341 | 259 | 7.75 | 290 | 8.68 | 728 | 21.79 | 1116 | 33.4 | 2393 | 71.63 | 948 | 28.37 |
| 71. ගිරිඋල්ල | 3541 | 476 | 13.44 | 458 | 12.93 | 861 | 24.32 | 1016 | 28.69 | 2811 | 79.38 | 730 | 20.62 |
| 72. ඉබ්බාගමුව | 2937 | 368 | 12.53 | 284 | 9.67 | 629 | 21.42 | 912 | 31.05 | 2193 | 74.67 | 744 | 25.33 |

| අධ්‍යාපන කලාපය | පෙනී සිටි සංඛ්‍යාව | විශිෂ්ට සම්මාන සාමර්ථ්‍යය (A) ලැබූ | | අධි සම්මාන සාමර්ථ්‍යය (B) ලැබූ | | සම්මාන සාමර්ථ්‍යය (C) ලැබූ | | සාමාන්‍ය සාමර්ථ්‍යය (S) ලැබූ | | සමත් (A+B+C+S) | | දුර්වල (W) | |
|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|---|
| | | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % | සංඛ්‍යාව | % |
| 73. පුත්තලම | 4736 | 314 | 6.63 | 347 | 7.33 | 858 | 18.12 | 1403 | 29.62 | 2922 | 61.7 | 1814 | 38.3 |
| 74. හලාවත | 5261 | 922 | 17.53 | 613 | 11.65 | 1138 | 21.63 | 1381 | 26.25 | 4054 | 77.06 | 1207 | 22.94 |
| 75. අනුරාධපුරය | 4153 | 701 | 16.88 | 480 | 11.56 | 918 | 22.1 | 1076 | 25.91 | 3175 | 76.45 | 978 | 23.55 |
| 76. තඹුත්තේගම | 1999 | 146 | 7.3 | 172 | 8.6 | 489 | 24.46 | 642 | 32.12 | 1449 | 72.49 | 550 | 27.51 |
| 77. කැකිරාව | 2283 | 268 | 11.74 | 269 | 11.78 | 505 | 22.12 | 619 | 27.11 | 1661 | 72.76 | 622 | 27.24 |
| 78. ගලෙන්බිඳුනුවැව | 1460 | 106 | 7.26 | 144 | 9.86 | 350 | 23.97 | 456 | 31.23 | 1056 | 72.33 | 404 | 27.67 |
| 79. කැබිතිගොල්ලෑව | 1645 | 87 | 5.29 | 163 | 9.91 | 409 | 24.86 | 559 | 33.98 | 1218 | 74.04 | 427 | 25.96 |
| 80. පොළොන්නරුව | 1643 | 271 | 16.49 | 199 | 12.11 | 346 | 21.06 | 451 | 27.45 | 1267 | 77.12 | 376 | 22.88 |
| 81. හිඟුරක්ගොඩ | 2127 | 239 | 11.24 | 198 | 9.31 | 463 | 21.77 | 584 | 27.46 | 1484 | 69.77 | 643 | 30.23 |
| 82. දිඹුලාගල | 1243 | 51 | 4.1 | 85 | 6.84 | 277 | 22.28 | 449 | 36.12 | 862 | 69.35 | 381 | 30.65 |
| 83. බදුල්ල | 2568 | 378 | 14.72 | 279 | 10.86 | 578 | 22.51 | 716 | 27.88 | 1951 | 75.97 | 617 | 24.03 |
| 84. බණ්ඩාරවෙල | 3294 | 429 | 13.02 | 381 | 11.57 | 726 | 22.04 | 932 | 28.29 | 2468 | 74.92 | 826 | 25.08 |
| 85. මහියංගනය | 1801 | 95 | 5.27 | 93 | 5.16 | 302 | 16.77 | 535 | 29.71 | 1025 | 56.91 | 776 | 43.09 |
| 86. වැලිමඩ | 2438 | 148 | 6.07 | 232 | 9.52 | 573 | 23.5 | 800 | 32.81 | 1753 | 71.9 | 685 | 28.1 |
| 87. පස්සර | 1095 | 51 | 4.66 | 89 | 8.13 | 241 | 22.01 | 330 | 30.14 | 711 | 64.93 | 384 | 35.07 |
| 88. වියළුව | 846 | 24 | 2.84 | 39 | 4.61 | 180 | 21.28 | 288 | 34.04 | 531 | 62.77 | 315 | 37.23 |
| 89. මොනරාගල | 1994 | 209 | 10.48 | 175 | 8.78 | 417 | 20.91 | 584 | 29.29 | 1385 | 69.46 | 609 | 30.54 |
| 90. වැල්ලවාය | 2779 | 188 | 6.77 | 206 | 7.41 | 578 | 20.8 | 833 | 29.97 | 1805 | 64.95 | 974 | 35.05 |
| 91. බිබිල | 1418 | 138 | 9.73 | 134 | 9.45 | 328 | 23.13 | 362 | 25.53 | 962 | 67.84 | 456 | 32.16 |
| 92. රත්නපුර | 5771 | 1022 | 17.71 | 690 | 11.96 | 1244 | 21.56 | 1422 | 24.64 | 4378 | 75.86 | 1393 | 24.14 |
| 93. බළන්ගොඩ | 2546 | 303 | 11.9 | 277 | 10.88 | 514 | 20.19 | 678 | 26.63 | 1772 | 69.6 | 774 | 30.4 |
| 94. නිවිතිගල | 2172 | 151 | 6.95 | 203 | 9.35 | 487 | 22.42 | 688 | 31.68 | 1529 | 70.4 | 643 | 29.6 |
| 95. ඇඹිලිපිටිය | 3294 | 302 | 9.17 | 284 | 8.62 | 682 | 20.7 | 971 | 29.48 | 2239 | 67.97 | 1055 | 32.03 |
| 96. කෑගල්ල | 4223 | 934 | 22.12 | 523 | 12.38 | 877 | 20.77 | 968 | 22.92 | 3302 | 78.19 | 921 | 21.81 |
| 97. මාවනැල්ල | 3484 | 504 | 14.47 | 422 | 12.11 | 821 | 23.56 | 944 | 27.1 | 2691 | 77.24 | 793 | 22.76 |
| 98. දෙහිඕවිට | 3299 | 349 | 10.58 | 402 | 12.19 | 710 | 21.52 | 973 | 29.49 | 2434 | 73.78 | 865 | 26.22 |
| **සමස්ත දිවයින** | **273189** | **40890** | **14.97** | **30297** | **11.09** | **58689** | **21.48** | **72454** | **26.52** | **202330** | **74.06** | **70859** | **25.94** |

වගුව 4

1.2.5 ලකුණු ලබාගෙන ඇති ආකාරය - පන්ති ප්‍රාන්තර අනුව

| පන්ති ප්‍රාන්තරය | සංඛ්‍යාතය | සංඛ්‍යාත ප්‍රතිශතය | සමුච්චිත සංඛ්‍යාතය | සමුච්චිත සංඛ්‍යාත ප්‍රතිශතය |
|---|---|---|---|---|
| 91-100 | 2107 | 0.67 | **315542** | 100.00 |
| 81-90 | 14879 | 4.72 | 313435 | 99.33 |
| 71-80 | 27352 | 8.67 | 298556 | 94.62 |
| 61-70 | 33251 | 10.54 | 271204 | 85.95 |
| 51-60 | 43237 | 13.70 | 237953 | 75.41 |
| 41-50 | 50263 | 15.93 | 194716 | 61.71 |
| **31-40** | **61886** | **19.61** | **144453** | **45.78** |
| 21-30 | 56535 | 17.92 | 82567 | 26.17 |
| 11-20 | 24435 | 7.74 | 26032 | 8.25 |
| 01-10 | 1573 | 0.50 | 1597 | 0.51 |
| 00-00 | 24 | 0.01 | 24 | 0.01 |

වගුව 4

ඉහත වගුවෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : (31 - 40 පන්ති ප්‍රාන්තරය ගතහොත්)

මෙම විෂයය සඳහා පෙනී සිටි 315 542 දෙනා අතුරෙන්, 31 - 40 ප්‍රාන්තරය තුළ ලකුණු ලබා ඇති සංඛ්‍යාව 61 886කි. එය ප්‍රතිශතයක් වශයෙන් 19.61% කි. ලකුණු 40 හෝ ඊට අඩුවෙන් ලබා ඇති සංඛ්‍යාව 144 453ක් වන අතර, එය ප්‍රතිශතයක් වශයෙන් 45.78%කි.

## 1.3 විෂය සාධනය පිළිබඳ විශ්ලේෂණය

### 1.3.1 I පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාරය 1 (RD/16/05/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

ඉහත ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : මෙම ප්‍රශ්න පත්‍රයේ අයදුම්කරුවන් වැඩි ම සංඛ්‍යාවක් නිවැරදි ව පිළිතුරු සපයා ඇත්තේ 13 වන ප්‍රශ්නයටය. එහි ප්‍රතිශතය 83%කි. එමෙන්ම අයදුම්කරුවන් අඩු ම සංඛ්‍යාවක් නිවැරදි ව පිළිතුරු සපයා ඇත්තේ 30 වන ප්‍රශ්නයටය. එහි ප්‍රතිශතය 12%කි.

1.3.2 II පත්‍රයෙහි ප්‍රශ්න තෝරාගෙන ඇති ආකාරය




ප්‍රස්තාරය 2 (RD/16/02/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබාගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා:- මෙහි 1 වන ප්‍රශ්නය අනිවාර්ය නිසා එයට පිළිතුරු සපයා ඇති ප්‍රතිශතය 100% කි. අඩු ම අයදුම්කරුවන් සංඛ්‍යාවක් තෝරාගෙන ඇත්තේ 8 වන ප්‍රශ්නය යි. එම ප්‍රතිශතය 25%කි.

1.3.3. II පත්‍රයෙහි ප්‍රශ්න සඳහා ලකුණු ලබාගෙන ඇති ආකාරය




ප්‍රස්තාරය 3 (RD/16/02/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

මෙම ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා: මෙහි 01 වන ප්‍රශ්නය සඳහා වෙන් කර ඇති ලකුණු ප්‍රමාණය 30කි. මෙම ප්‍රස්තාරයට අනුව 76% - 100% ප්‍රාන්තරයේ එනම් 23 - 30 තෙක් ලකුණු ලබා ගත් අයදුම්කරුවන් 7%කි. 51% - 75% ප්‍රාන්තරයේ එනම් 16 - 22 තෙක් ලකුණු ලබා ගත් අයදුම්කරුවන් 22%කි. 26% - 50% ප්‍රාන්තරයේ එනම් 8 - 15 තෙක් ලකුණු ලබා ගත් අයදුම්කරුවන් 43%කි. 00% - 25% ප්‍රාන්තරයේ එනම් 0 - 7 තෙක් ලකුණු ලබා ගත් අයදුම්කරුවන් 28%කි.

1.3.4 **II** පත්‍රය සඳහා සාධනය




ප්‍රස්තාරය 4.1 (RD/16/04/OL පෝරමයෙන් ලබාගත් තොරතුරු ඇසුරින් සකස් කරන ලදී.)

ඉහත ප්‍රස්තාරයෙන් තොරතුරු ලබා ගන්නා ආකාරය පහත සඳහන් උදාහරණයෙන් පෙන්වා දී ඇත.

උදා : 01 ප්‍රශ්නයෙහි (ආ) (iii) 1 අනුකොටසෙහි පහසුතාව 79%ක් වන අතර එම ප්‍රශ්නයේ (ආ) (i) c අනුකොටසේ පහසුතාව 7%ක් පමණ වේ.

**අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2015**

**33 - ඉතිහාසය**

**II පත්‍රයේ ප්‍රශ්නවල එක් එක් කොටසෙහි පහසුතා දර්ශකය**




ප්‍රස්තාරය 4.2



අ.පො.ස.(සා.පෙළ) විභාගය - 2015
33 - ඉතිහාසය
II පත්‍රයේ ප්‍රශ්නවල එක් එක් කොටසෙහි පහසුතා දර්ශකය
පහසුතා දර්ශකය
1.0
0.9
0.8
0.7
0.6
0.5
0.4
0.3
0.2
0.1
0.0
A B C A B
(i) (ii) (iii) (iv)
7
(i) (ii) (iii) (iv)
8
(i) A B C D (ii) (iii) A B (iv)
9
A B C (i) A B C D (ii) (iii) (iv)
10
III කොටසේ ප්‍රශ්න කොටස් හා අනුකොටස් (ලෝක ඉතිහාසය)


ප්‍රස්තාරය 4.3

# II කොටස

## 2. ප්‍රශ්න හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.1 I පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

#### 2.1.1. I පත්‍රයේ ව්‍යුහය

**කාලය පැය 01යි. මුළු ලකුණු 40කි.**

- ★ වරණ හතරක් සහිත බහුවරණ ප්‍රශ්න 40කින් සමන්විත වේ. එම එක් එක් ප්‍රශ්නයට දී ඇති (1), (2), (3), (4) වරණවලින් නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ වරණය තේරීම අපේක්ෂා කෙරේ.
- ★ සම්පූර්ණ විෂය නිර්දේශයම ආවරණය වන පරිදි ප්‍රශ්න සකස් කර ඇත.
- ★ ප්‍රශ්න සියල්ලට ම පිළිතුරු සැපයිය යුතුය.

## 2.1.2. I පත්‍රය

**1.** රටක වර්තමානය හා අනාගතය අනිවාර්යයෙන් ම එහි අතීතය මත ගොඩනැගෙන බව ප්‍රකාශ කළේ,
(1) සර් වින්ස්ටන් චර්චිල් ය. (2) ඊ. එච්. කාර් ය.
(3) ශ්‍රී ජවහර්ලාල් නේරු ය. (4) ඒබ්‍රහම් ලින්කන් ය.

**2.** ශ්‍රී ලංකාවේ ප්‍රාග් ඓතිහාසික යුගය ගැන තොරතුරු සොයන්නකුට වැදගත් වන මූලාශ්‍රය මින් කුමක් ද?
(1) අභිලේඛන (2) ජනකතා (3) ගුහා චිත්‍ර (4) ගල් මෙවලම්

**3.** ශ්‍රී ලංකාවේ ශාසනික ඉතිහාසය හැදෑරීමේ දී වැදගත් වන සාහිත්‍යයික මූලාශ්‍රයකි,
(1) රාජාවලිය (2) නිකාය සංග්‍රහය
(3) ධර්ම ප්‍රදීපිකාව (4) සද්ධර්මරත්නාවලිය

**4.** අපේ පුරාවස්තු රැකගැනීම වඩාත් වැදගත් වන්නේ, ඒවා,
(1) අතීතයට අයත් දේවල් නිසා ය.
(2) මිල කළ නොහැකි දේවල් නිසා ය.
(3) දේශීය උරුමය ප්‍රදර්ශනය කිරීමට හේතු වන නිසා ය.
(4) විදේශ සංචාරකයන්ට පෙන්විය හැකි නිසා ය.

**5.** ක්‍රි. ව. පස්වැනි සියවසේ දී අනුරාධපුර රාජකීය කාන්තාවන්ගේ ඇඳුම්-පැළඳුම් ගැන අවබෝධයක් ලබා ගත හැකි මූලාශ්‍රයකට නිදසුනක් වන්නේ,
(1) සීගිරි චිත්‍ර ය. (2) තිවංක පිළිමගෙයි චිත්‍ර ය.
(3) දෙගල්දොරුව විහාර චිත්‍ර ය. (4) කැලණි විහාර චිත්‍ර ය.

**6.** බුදු දහම මෙරට ව්‍යාප්ත වූ අනුරාධපුර මුල් යුගයේ දී බහුල ව දක්නට ලැබෙන්නේ,
(1) ටැම් ලිපි ය. (2) ලෙන් ලිපි ය. (3) පර්වත ලිපි ය. (4) පුවරු ලිපි ය.

**7.** ශ්‍රී ලංකාව ගැන තොරතුරු දැක් වූ විදේශීය ලේඛකයන්ගේ වැඩි අවධානය යොමු වී ඇත්තේ,
(1) මෙරට පැවැති වෙළඳාම ගැන ය.
(2) මෙහි ව්‍යාප්ත ව තිබූ ආගම් ගැන ය.
(3) අනුරාධපුර පාලනය ගෙන ගිය පාලකයන් ගැන ය.
(4) වරින්වර මෙරටට එල්ල වූ ආක්‍රමණ ගැන ය.

**8.** පැරණි ශ්‍රී ලාංකිකයන් වාරි කටයුතු සඳහා බහුල ව යොදා ගත් මහවැලි ගඟට සම්බන්ධ **නො වන** වාරි නිර්මාණය කුමක් '
(1) ඇළහැර ඇළ (2) අංගමැඩිල්ල ඇළ (3) රිදීබැඳි ඇළ (4) මිණිපේ ඇළ

**9.** යෝධ ඇළ හෙවත් ජය ගඟ විශිෂ්ට වාරි නිර්මාණයක් ලෙස සැලකීමට හේතුව මින් කුමක් ද?
(1) ඇළ පතුලේ ඇති සියුම් බෑස්ම (2) ඇළ මඟින් දිගු දුරකට ජලය ගෙන යාම
(3) කලා වැව හා තිසා වැව සම්බන්ධ කිරීම (4) කුඩා වැව් රාශියක් පෝෂණය කිරීම

**10.** පහත දැක්වෙන ඓතිහාසික සිදුවීම්, ඒවා සිදු වූ අනුපිළිවෙළ අනුව දැක් වූ විට නිවැරදි පිළිතුර කුමක් ද?
A - ත්‍රිපිටකය ග්‍රන්ථාරූඪ කිරීම
B - කාලිංග-මාඝ පොළොන්නරුව ආක්‍රමණය කිරීම
C - ශ්‍රී මහා බෝධි රෝපණය
D - සීගිරි බලකොටුව ඉදිකිරීම
(1) C, A, D හා B (2) C, B, A හා D (3) C, D, A හා B (4) C, D, B හා A

**11.** අනුරාධපුර යුගයේ මුල් භාගයේ දී ඉන්දු-ලංකා සබඳතාවල කැපී පෙනෙන ලක්ෂණය වී ඇත්තේ,
(1) වෙළෙඳ දූත හුවමාරුවයි. (2) යුද ආධාර ලබා ගැනීමයි.
(3) ආක්‍රමණයි. (4) සංක්‍රමණයි.

**12.** අනුරාධපුර යුගයේ ඉදිකරන ලද ප්‍රථම ස්තූපය වන්නේ,
(1) රත්නමාලී චෛත්‍යයයි. (2) ථූපාරාම චෛත්‍යයයි.
(3) තිස්සමහාරාම චෛත්‍යයයි. (4) මහියංගන චෛත්‍යයයි.

13. යාපනය රාජධානියේ ප්‍රධාන හින්දු ආගමික මධ්‍යස්ථානය මෙන් ම අගනුවර ද වී ඇත්තේ,
(1) වල්ලිපුරම් ය. (2) චාවාකච්චේරි ය. (3) කන්දරෝඩෙයි ය. (4) නල්ලූර් ය.

14. අනුරාධපුරයේ රන්මසු උයනට හා කුට්ටම් පොකුණට භූගත නළ මාර්ග මගින් ජලය ගෙන යන ලද බව තහවුරු වී ඇත්තේ මින් කවර වැවක සිට ද?
(1) බසවක්කුලම වැව (2) තිසා වැව (3) නුවර වැව (4) නාච්චදූව වැව

15. 'පටුන්ගම්' යනු,
(1) වෙළෙඳ නගර ආශ්‍රිත ජනාවාසයි. (2) විවිධ කර්මාන්ත සඳහා ප්‍රසිද්ධ වූ ජනාවාසයි.
(3) කුඩා වැව් ආශ්‍රිත ව පිහිටි ජනාවාසයි. (4) ගංගා මුව දොර පිහිටි තොටුපොළ ආශ්‍රිත ජනාවාසයි.

16. පළමුවැනි විජයබාහු රජතුමා පොළොන්නරු යුගයේ එක් ශ්‍රේෂ්ඨ පාලකයකු ලෙස සැලකීමට පදනම් වන ප්‍රමුඛ හේතුව මින් කුමක් ද?
(1) ආගමික ස්ථාන ප්‍රතිසංස්කරණය කිරීම (2) විදේශ ආධිපත්‍යයෙන් රට නිදහස් කර ගැනීම
(3) කෘෂිකර්මය නගා සිටුවීමට කටයුතු කිරීම (4) අසල්වැසි රටවල් සමඟ මිත්‍රශීලීව කටයුතු කිරීම

17. 
- කෝට්ටේ බලකොටුවක් නිර්මාණය කිරීම
- ගම්පොළ තුන්වැනි වික්‍රමබාහු රජුගේ අගමැති ලෙස රාජ්‍ය කටයුතු මෙහෙය වීම
- යාපනයේ ආර්ය චක්‍රවර්ති රජුගේ බදු නිලධාරීන්ට එරෙහි ව කටයුතු කිරීම

ඉහත සඳහන් ඓතිහාසික සිදුවීම් හා සම්බන්ධ පුද්ගලයා වූයේ,
(1) සපුමල් කුමරු ය. (2) අම්බුළුගල කුමරු ය.
(3) සේනාලංකාධිකාර සෙනෙවි ය. (4) නිශ්ශංක අලගක්කෝණාර ය.

18. පෘතුගීසීන් පෙරදිග ජාතියක් අතින් දරුණුතම පරාජය ලැබුයේ මින් කුමන සටනකින් ද?
(1) දන්තුරේ (2) මුල්ලේරියාව (3) රන්දෙනිවෙල (4) ගන්නෝරුව

19. ලන්දේසි පාලනය නිසා මෙරට ඇති වූ ප්‍රතිඵල **දෙකක්** ඇතුළත් පිළිතුර තෝරන්න.
A - කුරුඳු, වතු වගාවක් ලෙස සංවිධානය කිරීම
B - භාණ්ඩ ප්‍රවාහනයට ඇළ මාර්ග යොදා ගැනීම
C - බයිලා - කපිරිඤ්ඤා සංගීතය ජනප්‍රිය වීම
D - රෝමානු කතෝලික ආගම පැතිරවීම
(1) A හා B (2) B හා C (3) B හා D (4) C හා D

20. නව පෙළපතක් ආරම්භ කොට මහනුවර රාජධානියට ශක්තිමත් පදනමක් දමන ලද්දේ,
(1) සේනාසම්මත වික්‍රමබාහු රජු ය. (2) පළමුවැනි විමලධර්මසූරිය රජු ය.
(3) දෙවැනි රාජසිංහ රජු ය. (4) කීර්ති ශ්‍රී රාජසිංහ රජු ය.

21. ලන්දේසින් තම පෙරදිග මූලස්ථානය ලෙස තෝරාගත්තේ මින් කවර නගරයක් ද?
(1) ගෝව (2) පොන්ඩිචෙරි (3) බතාවිය (4) මද්‍රාසිය

22. බ්‍රිතාන්‍යයන්ට ශ්‍රී ලංකාව යටත්කර ගැනීමේ අදහසක් ඇති වීම කෙරෙහි බලපෑ ප්‍රධානතම සාධකය මින් කුමක් ද?
(1) ත්‍රිකුණාමලය වරායේ පිහිටීම (2) මෙරට කුරුඳුවල උසස් බව
(3) වැවිලි බෝග සඳහා ඉඩම් ලබා ගැනීම (4) ක්‍රිස්තියානි ආගම ප්‍රචාරය කිරීම

23. බ්‍රිතාන්‍ය පාලන සමයේ දී 'ඇඟබද්ද' පනවන ලද ආණ්ඩුකාරයා වූයේ,
(1) ෆෙඩ්රික් නෝර්ත් ය. (2) තෝමස් මේට්ලන්ඩ් ය.
(3) විලියම් ග්‍රෙගරි ය. (4) ටොරිංටන් සාමිවරයා ය.

24. ව්‍යවස්ථාදායක සභාවට පළාත්බද ඡන්ද කොට්ඨාස අනුව සාමාජිකයින් තෝරා ගැනීම ආරම්භ වූයේ කවර ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණයක් යටතේ ද?
(1) කෝල්බෲක් (2) කෲව්-මැකලම් (3) මැනිං (4) ඩොනමෝර්

**25.** සෝල්බරි ආණ්ඩුක්‍රමය ක්‍රියාත්මක වීමෙන් පසු ශ්‍රී ලංකාවේ ඇති වූ වෙනස්කම මින් කුමක් ද?
(1) සර්වජන ඡන්ද බලය ලබා දීම
(2) පාර්ලිමේන්තු ක්‍රමය හඳුන්වා දීම
(3) විධායක කාරක සභා ක්‍රමය ඇරඹීම
(4) රාජ්‍ය මන්ත්‍රණ සභාව පිහිටුවීම

**26.** 1978 ආණ්ඩුක්‍රම ව්‍යවස්ථාවට අනුව ජාතික වැදගත්කමකින් යුත් කරුණක් සම්බන්ධයෙන් තීරණයක් ගැනීමට ඇති වඩා ප්‍රජාතන්ත්‍රවාදී ක්‍රමය වන්නේ,
(1) ජනමාධ්‍ය තුළින් මහජන අදහස් විමසීම ය.
(2) පාර්ලිමේන්තුව තුළ දී විවාද කිරීම ය.
(3) ජනමත විචාරණයක් පැවැත්වීම ය.
(4) ශ්‍රේෂ්ඨාධිකරණ තීරණය අනුව කටයුතු කිරීම ය.

**27.** වයඹදිග ඉන්දියාව බාහිර ලෝකය සමඟ සම්බන්ධතා පැවැත්වීම කෙරෙහි බලපා ඇති ප්‍රධාන භූගෝලීය ලක්ෂණය මින් කුමක් ද?
(1) දුර්ග මාර්ග
(2) කාන්තාර
(3) කඳුවැටි
(4) ගංගා

**28.** මගධ අධිරාජ්‍යය හා සම්බන්ධ පහත දැක්වෙන සිදුවීම් ඒවායේ ඓතිහාසික අනුපිළිවෙළ අනුව පෙළ ගැස් වූ විට නිවැරදි පිළිතුර කුමක් ද?

A – ධනනන්ද රාජ්‍ය සමයේ දී උතුරු ඉන්දියාවේ විශාල ප්‍රදේශයක මගධ රාජ්‍යය ව්‍යාප්ත වීම
B – බිම්බිසාර රජතුමා විසින් අංග රාජ්‍යය මගධයට ඈඳා ගැනීම
C – මගධ රාජ්‍යයේ අගනුවර පාටලීපුත්‍ර නගරයට මාරු කිරීම
D – මගධ රාජ්‍යයේ බලය මෞර්ය රාජ වංශයට හිමි වීම

(1) B, A, C හා D
(2) B, C, A හා D
(3) C, A, B හා D
(4) C, B, A හා D

**29.** අශෝක හා මහා අක්බාර් යන පාලකයන් දෙදෙනාගේ ම ප්‍රතිපත්තිවල පොදු ලක්ෂණය වන්නේ,
(1) ඉන්දියාවෙන් පිටතට අධිරාජ්‍යය ව්‍යාප්ත නොකිරීම ය.
(2) ශ්‍රී ලංකාව සමඟ දේශපාලන හා සංස්කෘතික සම්බන්ධතා පැවැත්වීම ය.
(3) ආගමික සහනශීලී ප්‍රතිපත්තියක් අනුගමනය කිරීම ය.
(4) තම බල පරාක්‍රමය පෙන්වීම සඳහා රට තුළ කුලුනු ඉදිකිරීම ය.

**30.** රුසියාවට ප්‍රථමවරට සමාජවාදය හඳුන්වා දෙන ලද පුද්ගලයා වන්නේ,
(1) ව්ලැඩිමීර් ලෙනින් ය.
(2) ලියෝන් ට්‍රොට්ස්කි ය.
(3) පෙලකානොව් ය.
(4) මාර්ටෝව් ය.

**31.** හිට්ලර්ගේ දේශපාලන දර්ශනය වූයේ,
(1) නාසිවාදයයි.
(2) ධනවාදයයි.
(3) පැසිස්ට්වාදයයි.
(4) සමාජවාදයයි.

**32.** ධනපති පංතිය හා කම්කරු පංතිය වශයෙන් සමාජ බෙදීමක් ඇති වීමට බලපෑවේ,
(1) වැඩවසම් ක්‍රමයයි.
(2) පුනරුදයයි.
(3) යටත් විජිතවාදයයි.
(4) කාර්මික විප්ලවයයි.

**33.** සියවස් ගණනාවක් තිස්සේ ස්ථාවර ව පැවැති චීන සමාජය ශීඝ්‍රයෙන් වෙනස් වීම ආරම්භ වූයේ පහත සඳහන් කවර සිද්ධියක ප්‍රතිඵලයක් වශයෙන් ද?
(1) ක්වෝ මිං ටාන් පක්ෂයේ බලවත් වීම
(2) දීර්ඝ පාගමන
(3) මහා ඉදිරි පිම්ම
(4) සංස්කෘතික විප්ලවය

**34.** චීන සමූහාණ්ඩුවේ ප්‍රථම ජනාධිපතිවරයා වූයේ,
(1) සුන්-යත්-සෙන් ය.
(2) චියැං-කායි-ෂෙක් ය.
(3) යුවාං-ෂි-කායි ය.
(4) මාඕ-සේ-තුං ය.

**35.** ජපානයේ වැඩවසම් ක්‍රමය අහෝසි කරන ලද්දේ,
(1) නොබුනගා විසිනි. (2) හිදෙයෝෂි විසිනි.
(3) ටොකුගාවා ඉයාසු විසිනි. (4) මුට්සුහිතෝ අධිරාජයා විසිනි.

**36.** 'ඩයට් සභාව' මින් කවර රටක ව්‍යවස්ථාදායකය ද?
(1) චීනයේ (2) ජපානයේ (3) කොරියාවේ (4) ඊශ්‍රායලයේ

**37.** බටහිර යුරෝපා රටවල ආරක්ෂාව සඳහා ඇමෙරිකා එක්සත් ජනපදයේ නායකත්වයෙන් යුතුව පිහිටුවා ගත් සංවිධානය කුමක් ද?
(1) නේටෝ (2) සාර්ක් (3) නොබැඳිජාතීන් (4) වෝර්සෝ

**38.** පහත දැක්වෙන රහස් ඔත්තු සේවා අයත් රටවල් පිළිවෙළින් දැක්වෙන පිළිතුර කුමක් ද?

| | |
|---|---|
| (i) මධ්‍යම රහස් ඔත්තු සංවිධානය (CIA) | A - ඊශ්‍රායලය |
| (ii) මොසාට් සංවිධානය (MOSSAD) | B - සෝවියට් රුසියාව |
| (iii) K.G.B ඔත්තු සේවය | C - ජර්මනිය |
| | D - ඇමෙරිකා එක්සත් ජනපදය |

(1) A, D හා B (2) A, D හා C (3) C, B හා A (4) D, A හා B

**39.** මොන්ටෙස්කියු, වෝල්ටෙයර්, රූසෝ යන අයගේ අදහස් මගින් පසුබිම සකස් වූයේ පහත සඳහන් කවර ඓතිහාසික සිද්ධියකට ද?
(1) රුසියන් විප්ලවයට (2) චීන විප්ලවයට
(3) ප්‍රංශ විප්ලවයට (4) ඇමෙරිකානු නිදහස් සටනට

**40.** 1948 'බැල්ෆර් ප්‍රකාශනය' මගින් ස්ථාපිත කරනු ලැබූ නව රාජ්‍යය වූයේ,
(1) ඊශ්‍රායලයයි. (2) ක්‍රොඒෂියාවයි. (3) යුගොස්ලෝවියාවයි. (4) පලස්තීනයයි.

2.1.3 I පත්‍රය සඳහා අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

| ප්‍රශ්න අංකය | පිළිතුර | ප්‍රශ්න අංකය | පිළිතුර |
|---|---|---|---|
| 01. | 3 | 21. | 3 |
| 02. | 4 | 22. | 1 |
| 03. | 2 | 23. | 4 |
| 04. | 3 | 24. | 3 |
| 05. | 1 | 25. | 2 |
| 06. | 2 | 26. | 3 |
| 07. | 1 | 27. | 1 |
| 08. | 3 | 28. | 2 |
| 09. | 1 | 29. | 3 |
| 10. | 1 | 30. | 3 |
| 11. | 4 | 31. | 1 |
| 12. | 2 | 32. | 4 |
| 13. | 4 | 33. | 4 |
| 14. | 2 | 34. | 3 |
| 15. | 4 | 35. | 4 |
| 16. | 2 | 36. | 2 |
| 17. | 4 | 37. | 1 |
| 18. | 2 | 38. | 4 |
| 19. | 1 | 39. | 3 |
| 20. | 2 | 40. | 1 |

**වගුව 05**

නිවැරදි එක් පිළිතුරකට ලකුණු 02 බැගින් මුළු ලකුණු 80කි.

**I පත්‍රය සඳහා අවසන් ලකුණ = $\frac{80}{2}$ = 40**

2.1.4 **I** පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ - විෂය ක්ෂේත්‍ර අනුව



| විෂය ක්ෂේත්‍ර | ප්‍රශ්න සංඛ්‍යාව | පහසුතාව වැඩි ම ප්‍රශ්න අංකය හා එහි පහසුතාව | පහසුතාව අඩු ම ප්‍රශ්න අංකය හා එහි පහසුතාව |
|---|---|---|---|
| ලංකා ඉතිහාසය | 25 | 13 (83%) | 15 (32%) |
| ලෝක ඉතිහාසය | 15 | 29 (70%) | 30 (12%) |




2015 වසර ඉතිහාසය I පත්‍රය සැකසීමේ දී ලංකා ඉතිහාසය කොටසට ප්‍රශ්න 25ක් ද ලෝක ඉතිහාසය කොටසට ප්‍රශ්න 15ක් ද ඇතුළත් වී ඇත. ලංකා ඉතිහාසයේ සමස්ත පහසුතාව 53%ක් හා ලෝක ඉතිහාසයේ සමස්ත පහසුතාව 50%ක් ද බව අනාවරණය වේ.

ලංකා ඉතිහාසය කොටසේ සමස්ත පහසුතාව කෙරෙහි 6-11 ශ්‍රේණිය දක්වා චිත්‍ර, බුද්ධ ධර්මය, සිංහල, ඉතිහාසය යන විෂයයන්වලින්, විෂය කරුණු සිරස්ව හා තිරස්ව සමෝධානිකව පෝෂණය කර ගැනීමට හැකි වීම වාසි සහගත වී ඇත. විශේෂයෙන් දැනුම පදනම් කරගත් ප්‍රශ්නවල පහසුතාව ඉහළ අගයක් ගෙන ඇත. ශ්‍රී ලංකාවේ පිහිටීම ප්‍රාග් ඓතිහාසික ස්ථාන හා ඒ පිළිබඳ තොරතුරු ආර්ථික, ආගමික හා සමාජ සිදුවීම් ඒවාට සම්බන්ධ රජවරු සහ ඒ පිළිබඳ තොරතුරු ලබා ගත හැකි මූලාශ්‍රය පිළිබඳ ව ද ජාතික ව්‍යාපාර සම්බන්ධ නායකයින් යන තේමාවන් ඔස්සේ දැනුම පදනම් කර ගෙන ප්‍රශ්න සැකසී ඇත.

ලෝක ඉතිහාසය සම්බන්ධ ප්‍රශ්නවල පහසුතාව 50%ක අගයක් ගනී. එම කොටස ඉන්දියාවට ආර්යයන්ගේ සංක්‍රමණය හා ඊට අදාළ භූගෝලීය ලක්ෂණ, ඉන්දියාවේ ශ්‍රේෂ්ඨ පාලකයින් පිළිබඳ ව ද යුරෝපයේ පුනරුදය හා බැඳුණු සමාජ, ආර්ථික හා දේශපාලන පරිවර්තන ද නැගෙනහිර ආසියාතික රටවල් වන චීනය, ජපානය, ඉන්දියාව යන රටවල පාලකයන් හා ඔවුන්ගේ ක්‍රියාකලාප ද ලෝක යුද්ධවලින් පසු සිදු වූ ප්‍රතිඵල ද මෙම කොටසට අයත් වේ. ලෝක ඉතිහාසයේ විවිධ සිදුවීම් ශ්‍රී ලංකාවේ සමාජ, ආර්ථික හා දේශපාලන ඉතිහාසයට විවිධ අවස්ථාවල දී බලපෑ ආකාරය පිළිබඳ ව විමසා බැලීම පහසුතාව කෙරෙහි බලපා ඇත.

2.1.5 **I** පත්‍රයේ එක් එක් ප්‍රශ්නයෙහි වරණ තෝරා ඇති ආකාරය - ප්‍රතිශත ලෙස

| ප්‍රශ්න අංකය | නිවැරදි වරණය | එක් එක් වරණය තෝරා ඇති ශිෂ්‍ය ප්‍රතිශතය | | | | Missing |
|---|---|---|---|---|---|---|
| | | 1 | 2 | 3 | 4 | |
| 1 | 3 | 7% | 30% | **51%** | 12% | - |
| 2 | 4 | 30% | 5% | 10% | **54%** | - |
| 3 | 2 | 15% | **38%** | 28% | 19% | - |
| 4 | 3 | 19% | 12% | **67%** | 2% | - |
| 5 | 1 | **70%** | 12% | 11% | 7% | - |
| 6 | 2 | 21% | **39%** | 15% | 24% | - |
| 7 | 1 | **68%** | 6% | 7% | 18% | - |
| 8 | 3 | 17% | 25% | **44%** | 14% | - |
| 9 | 1 | **41%** | 24% | 17% | 18% | - |
| 10 | 1 | **36%** | 15% | 31% | 17% | - |
| 11 | 4 | 30% | 13% | 23% | **33%** | - |
| 12 | 2 | 4% | **82%** | 5% | 9% | - |
| 13 | 4 | 7% | 4% | 7% | **83%** | - |
| 14 | 2 | 23% | **55%** | 11% | 11% | - |
| 15 | 4 | 37% | 15% | 16% | **32%** | - |
| 16 | 2 | 14% | **60%** | 18% | 8% | - |
| 17 | 4 | 19% | 10% | 17% | **55%** | - |
| 18 | 2 | 11% | **70%** | 9% | 9% | - |
| 19 | 1 | **40%** | 13% | 23% | 24% | - |
| 20 | 2 | 17% | **38%** | 13% | 32% | - |
| 21 | 3 | 27% | 9% | **54%** | 9% | - |
| 22 | 1 | **66%** | 16% | 8% | 10% | - |
| 23 | 4 | 13% | 15% | 13% | **58%** | - |
| 24 | 3 | 14% | 23% | **37%** | 26% | - |
| 25 | 2 | 26% | **41%** | 18% | 15% | - |
| 26 | 3 | 11% | 17% | **54%** | 17% | - |
| 27 | 1 | **65%** | 7% | 15% | 13% | - |
| 28 | 2 | 16% | **60%** | 12% | 11% | - |
| 29 | 3 | 10% | 12% | **70%** | 8% | - |
| 30 | 3 | 55% | 20% | **12%** | 13% | - |
| 31 | 1 | **67%** | 8% | 15% | 9% | - |
| 32 | 4 | 28% | 10% | 9% | **53%** | - |
| 33 | 4 | 19% | 20% | 35% | **27%** | - |
| 34 | 3 | 30% | 16% | **22%** | 32% | - |
| 35 | 4 | 14% | 16% | 36% | **34%** | - |
| 36 | 2 | 18% | **68%** | 7% | 7% | - |
| 37 | 1 | **53%** | 19% | 16% | 12% | - |
| 38 | 4 | 13% | 11% | 15% | **61%** | - |
| 39 | 3 | 25% | 12% | **51%** | 12% | - |
| 40 | 1 | **53%** | 9% | 21% | 17% | - |

**වගුව 06**

එක් එක් ප්‍රශ්නය යටතේ නිවැරදි වරණය තෝරා ඇති ශිෂ්‍ය ප්‍රතිශතය අඳුරු කර දක්වා ඇත.

2.1.6. **I පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**

2015 වර්ෂයේ 1 වැනි පත්‍රය සැකසීමේ දී ලංකා ඉතිහාසය කොටසට ප්‍රශ්න 25ක් ද ලෝක ඉතිහාසය කොටසට ප්‍රශ්න 15ක් ද ඇතුළත් කර ඇත.

I ප්‍රශ්න පත්‍රයේ පහසුතාව 60% ඉක්ම වූ ප්‍රශ්න 13කි. ඒවා අතරින් ලංකා ඉතිහාසයෙන් 4, 5, 7, 12, 13, 18 සහ 22 ඇතුළත් වන අතර, ලෝක ඉතිහාසය කොටසින් ප්‍රශ්න අංක 27, 28, 29, 31, 36 හා 38 යන ප්‍රශ්න අංක ඇතුළත් වේ. මේ අතරින් ලංකා ඉතිහාස කොටසේ 12 සහ 13 යන ප්‍රශ්නවල පහසුතාව 80% ඉක්මවා ඇත. එම ප්‍රශ්න දෙක ම රාජධානි සම්බන්ධ ආගමික සිද්ධස්ථාන හා බැඳුණු ප්‍රශ්න වේ. එම ප්‍රශ්නවලට සම්බන්ධ විෂය කරුණු තහවුරු වීම කෙරෙහි අධ්‍යාපන චාරිකා, පෙළපොතට රූප සටහන් ඇතුළත් වී තිබීම, සිතියම් ලකුණු කර නම් කිරීම මෙන්ම සිංහල විෂයෙන් පෝෂණය වූ ජනශ්‍රැති ද ප්‍රාථමික අධ්‍යාපනයේ සිට ද්විතිය අධ්‍යාපනය දක්වා විවිධ ශ්‍රේණිවල දී ආගම් විෂයයන්වලින් පෝෂණය වූ විෂය දැනුම ද තහවුරු වීම මීට බලපා ඇති බව සිතිය හැක. එසේම මෙම ප්‍රශ්න දෙකේම නිවැරදි වරණය තෝරා ගැනීමේ දි 12 වන ප්‍රශ්නය සඳහා (2) වරණය තේරීම 82%ක් හා 13 වන ප්‍රශ්නය සඳහා (4) වන වරණය තේරීම 83%ක් පමණ ඉහළ මට්ටමක පැවතීම ද විශේෂයෙන් සඳහන් කළ හැකි කරුණක් වේ.

ලංකා ඉතිහාසයට අදාළ ව අඩුම පහසුතාවක් පෙන්වා ඇත්තේ 15 වන ප්‍රශ්නය යි. එයින් විමසා ඇත්තේ ශ්‍රී ලංකාවේ ජනාවාස පිළිබඳ දැනුම යි. ප්‍රශ්නයට සපයා ඇති වරණ හතරම සමබරතාවයකින් යුක්ත වීමත් ඓතිහාසික තොරතුරු පිළිබඳ නිවැරදි අවබෝධයක් නොතිබීම ද මීට හේතු වී ඇතැයි සැලකිය හැකි ය. නිවැරදි පිළිතුර තෝරා ඇති ශිෂ්‍ය ප්‍රතිශතය 32%කි. මෙහි දී පෙළ පොත පරිහරණය ජනප්‍රිය කරවීම, ඒ හා සම්බන්ධ ස්ථාන ලකුණු කිරීම යන ක්‍රියාකාරකම්, සාධන මට්ටම ඉහළ නංවා ගත හැකි උපක්‍රම ලෙස යෝජනා කළ හැකි ය.

I පත්‍රයේ ලෝක ඉතිහාසය කොටසේ ඇතුළත් ප්‍රශ්න 15න් පහසුතාව 50% ඉක්ම වූ ප්‍රශ්න 11කි. එහි වැඩි ම පහසුතාව පෙන්නුම් කරන්නේ 29 වැනි ප්‍රශ්නය වන අතර, සිසුන්ගෙන් 70%ක් නිවැරදි වරණය තෝරා ඇත. 30 වන ප්‍රශ්නය 12%ක් තරම් අඩු පහසුතාව පෙන්වයි. එහි නිවැරදි වරණය තෝරා ගෙන ඇත්තේ සිසුන්ගෙන් 12%ක් තරම් අඩු පිරිසකි. මෙම ප්‍රශ්නය සමස්ත පත්‍රයේ අඩු ම පහසුතාව පෙන්වීම සුවිශේෂ වේ. මෙම ප්‍රශ්නයෙන් විමසා ඇත්තේ රුසියාවේ දේශපාලන ඉතිහාසය හා සම්බන්ධ පුද්ගල නාමයන් ය. මෙහි දී ප්‍රශ්නයට අදාළ ව සුවිශේෂ විෂය දැනුම අඩු වීම පහසුතාව පහළ මට්ටමක පැවතීමට හේතු වී ඇත. පුද්ගල නාමයන්හි නුහුරුකම, නිරන්තරව පෙළපොත භාවිත නොකිරීම, මෙම තේමාවන් 11 ශ්‍රේණියට පමණක් සීමා වීම ප්‍රධාන හේතු විය හැක. එසේම මෙම 30 වන ප්‍රශ්නයට වැඩි ම ප්‍රතිචාරයක් දක්වා ඇත්තේ 55%ක් වූ (1) වරණය යි. එසේ වීමට හේතුවන්නට ඇත්තේ රුසියාවේ දේශපාලන ඉතිහාසය හා ප්‍රසිද්ධ චරිතයක් වූ ලෙනින් මහතාගේ නාමය එම වරණයට ඇතුළත් වී තිබීම විය හැකි ය.

I පත්‍රයේ ලෝක ඉතිහාසය කොටසේ ප්‍රශ්න අංක 27, 28, 29, 31, 36 හා 38 පහසුතාව පිළිවෙළින් 65%, 61%, 70%, 67%, 68% හා 61%ක් වේ.

ලෝක ඉතිහාසයේ 27, 28 සහ 29 යන ප්‍රශ්නවල පහසුතාව පිළිවෙළින් 65%, 61% හා 70%ක් වේ. මෙම ප්‍රශ්න තුන මගින් අසල්වැසි ඉන්දියාවේ තොරතුරු විමසා බැලීමක් සිදු වේ. ලෝක ඉතිහාසය කොටසින් වැඩි ම පහසුතාව දක්වා ඇත්තේ 29 වැනි ප්‍රශ්නය යි. එයට හේතු වී ඇත්තේ 6-11 දක්වා ශ්‍රේණිවල ද විවිධ විෂයයන් තුළින් අශෝක රජුගේ රාජ්‍ය ප්‍රතිපත්තීන් පිළිබඳ කරුණු අනාවරණය වී තිබීම බව පෙනේ. එසේම මෙම චරිත පිළිබඳ ව විද්‍යුත් මාධ්‍ය මගින් දැනුවත් වී තිබීම ද (ටෙලිනාට්‍ය) ශිෂ්‍ය මනසට තොරතුරු කාවැද්දීමට හේතු වන්නට ඇත.

I පත්‍රයේ සමස්ථයක් ලෙස පහසුතාව 30%ට අඩු මට්ටමක ඇත්තේ ලෝක ඉතිහාස කොටසේ 30, 33 සහ 34 යන ප්‍රශ්න තුන පමණි. ඒවායේ පහසුතාවය පිළිවෙළින් 12%, 27% හා 22%ක් වේ. එම ප්‍රශ්න තුනම ලංකාව හා ඉන්දියාවෙන් බැහැර ව රුසියාව, චීනය යන රටවල දේශපාලන ඉතිහාසය හා බැඳෙන සිදු වීම් පිළිබඳ ව විමසා ඇත. පෙළපොත කියවා අවබෝධ කර ගැනීමට අපහසු වීම සහ රටවල් පිළිබඳ දේශපාලන හා සංස්කෘතික තොරතුරු පුද්ගල නාම හා සිදුවීම් පිළිබඳ ව තර්කානුකූල ව අවබෝධ කර ගැනීමේ අපහසුතාව නිසා වැරදි ප්‍රතිචාර තෝරා ගැනීමට නැඹුරු කර දීම ඉහළ මට්ටමක තිබුණි.

පළමුවන පත්‍රය පිළිබඳ ව ඉහළ සාධන මට්ටමක් ලබා දීම සඳහා ඉගෙනුම් ඉගැන්වීම් විෂය කරුණුවලට අදාළ පුද්ගලයින්ගේ පින්තූර, සිතියම්, වගු, සටහන් භාවිත කිරීම, අදාළ සිදුවීම් පිළිබඳ ව ක්ෂේත්‍ර පොත් සකස් කරවීම, කෙටි ප්‍රශ්න සැකසීම, රජවරුන්ගේ කාල හා ඒ හා සම්බන්ධ සිදුවීම් වගුගත කිරීම, දැනුම මිනුම තරග පැවැත්වීම, ප්‍රියමනාප ඉගෙනුම් පරිසරයක් ඇති කිරීම වැනි ක්‍රියාකාරකම් තුළින් සාධන මට්ටම වැඩි දියුණු කළ හැකි ය.

පුරාවිද්‍යාත්මක හා ඓතිහාසික ස්ථාන නැරඹීමේ චාරිකා (සැලසුම් කරන ලද) සංවිධානය කිරීම පෙරහුරු සම්මන්ත්‍රණ සංවිධානය කිරීම තුළින් ද සාධන මට්ටම ඉහළ නැංවීමට හැකි වේ.

කරුණු මතක තබා ගැනීමේ දුර්වලතා, සුවිශේෂී කරුණු පිළිබඳ අවධානය යොමු නොකිරීම, ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේ නිපුණතාව ප්‍රමාණවත් නොවීම, සාධන මට්ටම අඩු වීමට හේතු වී ඇති අතර, ප්‍රශ්න නිවැරදි ව තේරුම් ගැනීමට සැලැස්වීම, සංකල්ප හා වචනාර්ථ පිළිබඳ දැනුම සිසුන් සමඟ සාකච්ඡා කිරීම මගින් එවැනි දුර්වලතා මඟහරවා ගැනීමට සිසුන් යොමු කිරීමෙන් ඉහළ සාධන මට්ටමක් අපේක්ෂා කළ හැකි ය.

ලංකා හා ලෝක ඉතිහාසයේ දේශපාලන ආර්ථික හා සමාජ සිදුවීම් පිළිබඳ ව කාල වකවානු තුලනාත්මකව ගවේෂණයට අවස්ථා සම්පාදනය කළ යුතු වේ. වැදගත් සිදුවීම් ලේඛන ගතකර පංති කාමරයේ ප්‍රදර්ශනය කිරීම ද දෛනිකව පංති කාමරයේ දී අවධානය කරන විෂය කරුණු කෙටි ප්‍රශ්න හා පිළිතුරු ආශ්‍රයෙන් බිත්ති පුවත්පත්වල ප්‍රදර්ශනය කිරීම හා සමාජ විද්‍යා සමිතිවල දී ප්‍රශ්න විචාරාත්මක වැඩ සටහන් මගින් ඉතිහාසය විෂයේ කරුණු තවදුරටත් තහවුරු කර ගැනීමට අවස්ථා සලසා දීමට කටයුතු කිරීම යනාදි ක්‍රියාමාර්ග අනුගමනය කිරීම තුළින් විෂය සාධන මට්ටම ඉහළ නංවා ගත හැකි වේ.

## 2.2 II පත්‍රය හා පිළිතුරු සැපයීම පිළිබඳ තොරතුරු

### 2.2.1 II පත්‍රයේ ව්‍යූහය

**කාලය පැය 03යි. මුළු ලකුණු 120යි.**

II පත්‍රය I, II හා III ලෙස ප්‍රධාන කොටස් 3කින් යුක්තය.

**I කොටස**

පළමුවන ප්‍රශ්නය පමණක් මෙම කොටසට අයත් වන අතර, එය (අ) සහ (ආ) ලෙස කොටස් දෙකකින් යුක්ත අනිවාර්ය ප්‍රශ්නයකි. (අ) කොටසට ශ්‍රී ලංකාවේ ආකෘති සිතියමක ඓතිහාසික ස්ථාන 10ක් ලකුණු කර නම් කිරීම ද ලෝක ආකෘති සිතියම් කොටසක ඓතිහාසික ස්ථාන 8ක් ලකුණු කර නම් කිරීම ද අපේක්ෂිතය. ඒ සඳහා පිළිවෙළින් ලකුණු 10 සහ 8ක් ලෙස ලකුණු 18ක් වෙන් කෙරේ. (ආ) කොටසට පින්තූර ආශ්‍රිත හා ඓතිහාසික සිදුවීම්වලට අදාළව කෙටි ප්‍රශ්නවලට පිළිතුරු සැපයීම සඳහා ලකුණු 12ක් ද වෙන් කෙරේ.

**II කොටස**

මෙම කොටස ලංකා ඉතිහාසයට අදාළව ව්‍යූහගත හා අර්ධ ව්‍යූහගත වර්ගයේ ප්‍රශ්න 5කින් යුක්ත වන අතර ඉන් 3කට පිළිතුරු සැපයිය යුතුය. ප්‍රශ්නයකට ලකුණු 18 බැගින් මුළු ලකුණු 54ක් වෙන් කෙරේ.

**III කොටස**

මෙම කොටස ඉන්දීය, යුරෝපා හා ඈත පෙරදිග රටවල ඉතිහාසයට අදාළව ව්‍යූහගත හා අර්ධ ව්‍යූහගත වර්ගයේ ප්‍රශ්න 4කින් යුක්ත අතර ඉන් 2කට පිළිතුරු සැපයිය යුතුය. එක් ප්‍රශ්නයකට ලකුණු 18 බැගින් මුළු ලකුණු 36ක් වෙන් කෙරේ.

II පත්‍රය සඳහා මුළු ලකුණු $= 30 + 54 + 36 = 120$

II පත්‍රයට අවසාන ලකුණ $= \frac{120}{2} = 60$

2.2.2 II පත්‍රය සඳහා අපේක්ෂිත පිළිතුරු, ලකුණු දීමේ පටිපාටිය, පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ, නිගමන හා යෝජනා

| |
|---|
| II පත්‍රයෙහි එක් එක් ප්‍රශ්නය සඳහා පිළිතුරු සැපයීම පිළිබඳ නිරීක්ෂණ ප්‍රස්තාර 2, 3, 4.1, 4.2, හා 4.3 ඇසුරෙන් ඉදිරිපත් කර ඇත. ප්‍රශ්නයට අදාළ ප්‍රස්තාර කොටස ඒ ඒ ප්‍රශ්නයේ නිරීක්ෂණ හා නිගමන සමග දක්වා ඇත. |

# I කොටස

1 ප්‍රශ්නය

**1.** **(අ)** පහත (i) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන සියල්ල ම සපයා ඇති ශ්‍රී ලංකා සිතියමෙහි ද (ii) යටතේ දක්වා ඇති ඓතිහාසික ස්ථාන සියල්ල ම සපයා ඇති ලෝක සිතියම් කොටසෙහි ද ලකුණු කර නම් කරන්න.

(i) යෝධ වැව, මහියංගනය, ගාල්හ නදී, මිහින්තලේ, පඬුවස්නුවර, පරාක්‍රම සමුද්‍රය, කසාතොට, ලංකා පටුන, යාපනය නගරය, ගොඩවාය (ලකුණු 10 යි)

(ii) සින්දු ගඟ, මලක්කා සමුද්‍ර සන්ධිය, ගෝව, හිරෝෂිමා, රෝමය, තායිවානය, දිල්ලිය, කාම්බෝජය (ලකුණු 08 යි)

**(ආ)** (i) පහත *A*, *B*, *C* හා *D* යටතේ දක්වා ඇති ඓතිහාසික තොරතුරු හා සම්බන්ධ පුද්ගලයන්/ස්ථාන අනුපිළිවෙළින් ඔබේ පිළිතුරු පත්‍රයේ ලියා දක්වන්න.

*A* - විජය කුමරු ඇතුළු පිරිස මෙරටට ගොඩබට ස්ථානය

*B* - වයඹදිග ඉන්දියාව ආක්‍රමණය කළ පළමු ග්‍රීක අධිරාජයා

*C* - ඉන්දියාවට නිදහස ලැබෙන විට බ්‍රිතාන්‍යයේ සිටි අගමැතිවරයා

*D* - දුරකථනය නිපද වූ ඇමෙරිකන් ජාතිකයා (ලකුණු 04 යි)

- *A* සහ *B* යටතේ දක්වා ඇති පින්තූර අධ්‍යයනය කොට, අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු **අංක අනුපිළිවෙළින්** ඔබේ පිළිතුරු පත්‍රයේ ලියන්න.

(ii) 1. *A* වලින් දැක්වෙන නිර්මාණයේ නම කුමක් ද?
2. එය කරවන ලද රජතුමා නම් කරන්න.
3. ශ්‍රී ලංකාවේ කවර ඓතිහාසික නගරයක මෙය දක්නට ලැබේ ද?
4. මෙහි බිත්තිවල ආරුක්කු සහිත කුහරවල දක්නට ලැබෙන්නේ මොනවා ද?

(ලකුණු 04 යි)


*A*

(iii) 1. *B* වලින් දැක්වෙන්නේ කුමක් ද?
2. එහි වම් අත්ල මත දක්නට ලැබෙන්නේ කුමක් ද?
3. මෙවැනි නිර්මාණ බහුල ව දක්නට ලැබෙනුයේ කවර ස්ථාන ඉදිරිපිට ද?
4. මෙවැනි නිර්මාණ සඳහා බහුල ව යොදාගෙන ඇති අමුද්‍රව්‍යය කුමක් ද?

(ලකුණු 04 යි)


*B*

අපේක්ෂිත පිළිතුරු හා ලකුණු දීමේ පටිපාටිය

1 ප්‍රශ්නය

**(1) (අ) (i)**




**(ලකුණු 10)**

(1) (අ) (ii)


N
හිරෝෂිමා
තායිවානය
කාම්බෝජය
මලක්කා සමුද්‍ර සන්ධිය
දිල්ලිය
ගෝව
කැස්පියන් මුහුද
கஸ்பியன் கடல்
Caspian Sea
කළු මුහුද
கருங்கடல்
Black Sea
රෝමය
මධ්‍යධරණී මුහුද
மத்தியதரைக் கடல்
Mediterranean Sea
ඉන්දියන් සාගරය
இந்து சமுத்திரம்
Indian Ocean
අප්‍රිකාව
ஆபிரிக்கா
Africa

(ලකුණු 08යි)

(ආ) (i) A - තම්මැන්නාව/ තම්බපණ්ණි

B - මහා ඇලෙක්සැන්ඩර්/ ඇලෙක්සැන්ඩර්

C - ක්ලේමන්ට් ඇට්ලි/ ඇට්ලි

D - ඇලෙක්සැන්ඩර් ග්‍රහැම්බෙල්/ ග්‍රහැම්බෙල් **(ලකුණු 01 × 04 = 04යි)**

(ii) 1. - සත්මහල් ප්‍රාසාදය

2. - නිශ්ශංකමල්ල රජ/ කීර්ති ශ්‍රී නිශ්ශංකමල්ල රජ

3. - පොළොන්නරුව/ පුලතිසිපුර/ පුලස්ථි නගර

4. - දේවතා රූප/ දේව රූප **(ලකුණු 01 × 04 = 04යි)**

(iii) 1. - මුරගල/ දොරටුපාල රූපය

2. - පුන්කලස/ පූර්ණඝටය

3. - ආගමික ස්ථාන/ පූජනීය ස්ථාන/ බෞද්ධ පූජනීය ස්ථාන

4. - කළුගල්/ හුණුගල්/ ග්‍රැනයිට් **(ලකුණු 01 × 04 = 04යි)**

1 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




01 ප්‍රශ්නය අනිවාර්ය වේ. පිළිතුරු සැපයීම 100%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 30ක් හිමි වේ.

ඉන් ලකුණු 00 - 07 ප්‍රාන්තරයේ 28%ක් ද
ලකුණු 08 - 15 ප්‍රාන්තරයේ 43%ක් ද
ලකුණු 16 - 22 ප්‍රාන්තරයේ 22%ක් ද
ලකුණු 23 - 30 ප්‍රාන්තරයේ 7%ක් ද
ලකුණු ලබාගෙන ඇත.

මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 23 හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 7%ක් වන අතර 28%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 07 හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අනුකොටස් 14ක් ඇති අතර, ඉන් 60%කට වැඩි පහසුතාව දක්වා ඇත්තේ කොටස් 7කට පමණි. මෙම ප්‍රශ්නයේ වැඩි ම පහසුතාවයක් පෙන්වා ඇත්තේ (ආ) කොටසේ (iii) (1) වන අතර, එහි පහසුතාව 79%ක් වේ. අඩු ම පහසුතාව දක්වා ඇත්තේ (ආ) (i) (C) කොටසට ය. එහි පහසුතාව 7%කි.

පළමු ප්‍රශ්නයේ (අ) කොටසේ *(i)* හා *(ii)* පිළිවෙළින් ශ්‍රී ලංකා සිතියම හා ලෝක සිතියම ලකුණු කිරීම වේ. එහි පහසුතාව පිළිවෙළින් 28%ක් හා 29%කි. ලංකාවේ ඓතිහාසික ස්ථාන ලකුණු කර නම් කිරීමට වඩා ලෝක සිතියමේ ඓතිහාසික ස්ථාන ලකුණු කර, නම් කිරීම පහසු වී ඇත.

පළමු ප්‍රශ්නයේ (අ) කොටසේ *(i) A, B, C* හා *D* පිළිවෙළින් ඓතිහාසික ස්ථාන හා පුද්ගලයන් පිළිබඳ විමසීම පිළිවෙළින් 74%, 32%, 7%, 77% යන පහසුතා මට්ටම්වල පවතී. අඩු ම පහසුතාව දක්වා ඇත්තේ *C* කොටසේ විමසා ඇති ඉන්දියාව හා බ්‍රිතාන්‍යයේ දේශපාලන තොරතුරු හා පුද්ගල නාම තොරතුරු සම්බන්ධව ය.

එම කොටසේ *A* හා *D* කොටස්වල පහසුතාව ඉහළ අගයක් ගෙන ඇත්තේ වෙනත් විෂයයන්වලින් ද විවිධ ශ්‍රේණිවලින් ද ලබාගත් දැනුම පිළිබඳ මතක ශක්තිය තුළින් විය හැකි ය.

(ආ) කොටසේ *(ii)* හා *(iii)* කොටස් ඓතිහාසික පින්තූර හා සම්බන්ධ වේ. පළමුවන ප්‍රශ්නයේ වැඩි ම පහසුතාව දක්වා ඇති (ආ) *(iii)* කොටස ද *1* අනුකොටසමෙම කොටසට ඇතුළත් වේ. එහි පහසුතාව 79%කි. (ආ) කොටසේ *(ii) 4* අනුකොටස අඩු ම පහසුතාවක් පෙන්නුම් කර ඇත. එහි පහසුතාව 21%කි. එයට හේතුව රූපය නම් කිරීමට දැනුමක් තිබුණ ද එය පිහිටා ඇති ඓතිහාසික නගරය පිළිබඳ පවතින දැනුම අඩු වීම විය හැකි ය. පින්තූර දෙකම නම් කිරීම සතුටුදායක තත්ත්වයක ඇත. A හා B රූප නම් කිරීම පිළිවෙළින් 61%ක් හා 79%ක ඉහළ පහසුතාවක් පෙන්නුම් කර ඇත. රූප සටහන් දෙකෙන් B රූපයේ අනුකොටස්වලට පිළිතුරු සැපයීම සෑම කොටසකටම 50%ක් හෝ එය ඉක්මවා ඇත. එයට හේතුව නිරන්තර ඇස ගැටෙන ස්ථානයකින් මෙම පින්තූරය උපුටා ගැනීම විය හැකි ය. බොහෝ විහාරස්ථානවල පියගැට පෙළ දෙපස මෙම රූපය දැකිය හැකි වීම ය. *(iii)* 2 අනු කොටසට පිළිතුරු සැපයීමේ දී වම් අත්ල හඳුනා ගැනීමට අපහසු වී ඇත. පින්තූරයක වම හා දකුණ පිළිබඳ අවබෝධ කර දීමට ගුරුභවතුන්ගේ මැදිහත් වීම අවැසි බව මින් පසක් වේ.

මෙම ප්‍රශ්නයේ පහසුතා මට්ටම වැඩි දියුණු කර ගැනීම සඳහා නිරන්තරයෙන් ම සෑම පාඩමක අවසානයේ හා විටින් විට ඓතිහාසික ස්ථාන ලකුණු කර නම් කිරීම, ලකුණු කර නම් කර ඇති සිතියම් පන්තිකාමරය තුළ ප්‍රදර්ශනය කරවීම, සිතියම් අභ්‍යාස පොතක් හා පින්තූර පොතක් පරිහරණය කිරීම ඓතිහාසික ස්ථානවල පිහිටීම ප්‍රකාශ කිරීමට අවස්ථා ලබා දීම යෝග්‍ය වේ. මීට අමතර ව දෘෂ්‍ය උපකරණ ද යොදා ගත හැකි ය.

1 ප්‍රශ්නයේ (ආ) කොටසේ *(i)* කොටසට සම්බන්ධ පුද්ගලයන් ස්ථාන පිළිබඳ දැනුම වර්ධනය කර ගැනීම සඳහා පෙළපොත පරිහරණය කිරීම, රජවරුන්ගේ කාර්ය සංසිද්ධි ලේඛන ගත කිරීම හා වගු ගත කිරීම  යෝග්‍ය වේ.

(ආ) කොටසේ *(ii)* හා *(iii)* කොටස්වල පහසුතා මට්ටම සංවර්ධනය සඳහා පෙළපොත් හා ගුරු මාර්ගෝපදේශ සංග්‍රහ (10-11ශ්‍රේණි) ආශ්‍රිත පින්තූර නිරන්තරයෙන් අවධානයට යොමු කරවීම, පන්ති කාමර තුළ ප්‍රදර්ශනය කරවීම හා ඒවා බිත්ති පුවත්පත් තුළින් සතිපතා ප්‍රදර්ශනය කරවීම, සෑම දිනකම පාඩමට ප්‍රවේශයක් ලෙස පින්තූරයක් හඳුන්වා දීම ඒ ආශ්‍රිත ව නිරීක්ෂණය කළ හැකි ප්‍රශ්න ගොනු සකස් කිරීම සහ අධ්‍යාපන චාරිකාවල දී ඓතිහාසික ස්ථානවල වැදගත්කම හඳුන්වා දීම පහසුතාව ඉහළ නැංවීමට සුදුසු යැයි යෝජනා කළ හැකි ය.

# II කොටස

**2 ප්‍රශ්නය**

**නිපුණතාව : අනුරාධපුර යුගයේ වාරි කටයුතු, මධ්‍ය පාලනය හා පරිහානිය පිළිබඳ දැනුම අවබෝධය පිරික්සීම**

**2.** (i) *A* - කදම්බ නදී
*B* - ගෝණ නදී
*C* - කප්පකන්දර නදී
යන ගංගාවල වර්තමාන නම් වරහන් තුළින් තෝරා ලියන්න.
(කලා ඔය, ඇදුරු ඔය, මල්වතු ඔය, යාන් ඔය, මැණික් ගඟ, කුඹුක්කන් ඔය) (ලකුණු 03 යි)

(ii) *A* - වසභ
*B* - මහසෙන්
*C* - ධාතුසේන
*D* - දෙවැනි අග්බෝ
යන එක් එක් පාලකයා විසින් කරවන ලද වාරි කර්මාන්තය කුමක් දැයි වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් දක්වන්න.
(අභය වැව, කන්තලේ වැව, හුරුළු වැව, තිසා වැව, මහවිලච්චිය වැව, නාච්චදූව වැව, පදවිය වැව, කලා වැව) (ලකුණු 04 යි)

(iii) අනුරාධපුර රාජධානිය පිරිහීයාමට හේතු වූ කරුණු **දෙකක්** විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) ජලාශ්‍රිත ශිෂ්ටාචාරයේ මධ්‍ය පාලනය සංවිධානය වූ ආකාරය පහත සඳහන් ශීර්ෂ යටතේ විස්තර කරන්න.
*A* - රජතුමා සතු කාර්යභාරය
*B* - රාජ්‍ය නිලධාරීන් (ලකුණු 06 යි)

**2. (i)** *A* - මල්වතු ඔය
*B* - කලා ඔය
*C* - මැණික් ගඟ **(ලකුණු 01 × 03 = 03යි)**

**(ii)** *A* - මහවිල්ච්චිය වැව *B* - හුරුළු වැව
*C* - කලා වැව *D* - කන්තලේ වැව **(ලකුණු 01 × 04 = 04යි)**

**(iii)**
- ★ දුර්වල පාලකයන් බලයට පත් වීම (පස්වන මිහිඳු රජු)
- ★ දකුණු ඉන්දීය ආක්‍රමණ (චෝළ)/ ශ්‍රී මාර ශ්‍රී වල්ලභ/ රාජ රාජ
- ★ කුළී හමුදා ආක්‍රමණිකයාගේ පැත්ත ගැනීම (අගම්පඩි වේලෛයික්කාර)

**(කරුණු දෙකක් විස්තර කිරීමට ලකුණු 02 + 03 = 05යි)**

**(iv)** *A*
- ★ රටවැසියන් ආරක්ෂා කිරීම (විදේශීය හා දේශීය සතුරන්ගෙන්)
- ★ ගොවිතැන් කටයුතු සඳහා වාරි පහසුකම් සැපයීම
- ★ ආගමික හා සංස්කෘතික කටයුතු සඳහා අනුග්‍රහය දැක්වීම
- ★ යුක්තිය පසිදලීම
- ★ දසරාජ ධර්මය අනුව රට පාලනය කිරීම (දාන, ශීල, භාවනා, ... ...)

*B*
- ★ ප්‍රධාන රාජ්‍ය නිලධාරීන් (සේනාධිපති, පුරෝහිත, බඩකරික, මහලේනා ආදීන්) කාර්යයන් විස්තර කිරීම

ඉහත ශීර්ෂ විස්තර කිරීමට **(ලකුණු 03 + 03 = 06යි)**

2 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




02 ප්‍රශ්නය තෝරාගෙන ඇති පිරිස 88%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමි වේ.

ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 32%ක් ද
ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 32%ක් ද
ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 18%ක් ද
ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 18%ක් ද
ලකුණු ලබාගෙන ඇත.

මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 18%ක් වන අතර, 32%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04ක් හෝ ඊට අඩුවෙනි.




★ මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 10 අතුරෙන් පහසුතාව වැඩි ම අනුකොටස *(i) A* වන අතර එහි පහසුතාව 67%කි. එසේම පහසුතාව අඩු ම කොටස *(ii) A* වන අතර එහි පහසුතාව 31%කි.

අනුරාධපුර යුගයේ වාරි කටයුතු, මධ්‍ය පාලනය හා පරිහානිය පිළිබඳ දැනුම පිරික්සීමට මෙම ප්‍රශ්නය සකස් වී ඇති අතර, එම ප්‍රශ්නය තෝරාගෙන ඇති ශිෂ්‍ය සංඛ්‍යාව 88%කි.

මෙම ප්‍රශ්නයේ *(i)* කොටසේ A, B සහ C අනුකොටස් තුනට ම 55%ක් හා ඊට වඩා වැඩි පහසුතා ප්‍රතිශතයක් පෙන්නුම් කරයි. මෙහි පිළිවෙළින් පහසුතාව 67%ක්, 58%ක් හා 55%ක් වේ. මෙවැනි පහසුතාව ඇති වීම කෙරෙහි ප්‍රශ්නයට අදාළ වරණ වරහන් තුළින් තෝරා පිළිතුරු සැපයීමට අවකාශ සැලසී තිබීමත්, 6-11 ශ්‍රේණි තුළ දී මේ කරුණු පිළිබඳ ව තොරතුරු අධ්‍යයනය කිරීමට අවකාශය සැලසී තිබීමත් හේතු වන්නට ඇත.

මෙහි *(ii)* කොටසේ A, B, C, D අනුකොටස් සඳහා රජවරුන්ගේ වාරි නිර්මාණ වරහන් තුළ සපයා ඇත. ඒවායින් නිවැරදි පිළිතුරු තේරීම, මෙම කොටසේ පසුතාව ඉහළ යාමට හේතු වී ඇත. නමුත් A අනුකොටසේ පහසුතාව 31%කි. එහි වසභ රජුගේ වාරි නිර්මාණය සපයා ඇති වරණ අතරින් තෝරා ගැනීම දුෂ්කර වී ඇත. වසභ රජුගේ වාරි නිර්මාණ අති විශාල ප්‍රමාණයක් ඇති නමුත්, එම වාරි නිර්මාණ පිළිබඳ පුළුල් අවබෝධයක් නොමැති වීම ද ගැටළුවක් වන්නට ඇත. වඩාත් ඉහළ පහසුතාව පෙන්වා ඇත්තේ 62%ක් වන C කොටසේ ධාතුසේන රජුගේ වාරි නිර්මාණය පිළිබඳ දැනුම යි. මෙයට ද 6-11 ශ්‍රේණි තුළ දී ලැබූ දැනුම ඉවහල් වන්නට ඇත. එමෙන් ම B හා D මහසෙන් හා දෙවන අග්බෝ යන රජවරුන්ගේ වාරි නිර්මාණ පිළිබඳ දැනුම පිළිවෙළින් 41%ක් හා 48%ක් වේ. ඒ සඳහා ද පෙර ලබාගත් දැනුම ඉවහල් වන්නට ඇත. *(iii)* කොටසට කරුණු දක්වා විස්තර කිරීම අපේක්ෂා කළ ද කරුණු විස්තර කිරීමේ අපහසුතාව නිසා 42%ක් තරම් අඩු පහසුතාවක් පෙන්නුම් කරයි.

*(iv)* කොටස සුවිශේෂී ව කරුණු විමසන බවක් අනාවරණය වේ. එහි A කොටස රජුගේ කාර්යයන් පෙළ ගැස්වීම සතුටුදායක මට්ටමක පැවතිය ද B කොටසට රාජ්‍ය නිලධාරීන්ගේ කාර්යභාරය නිවැරදි ව ඉදිරිපත් කිරීමට නොහැකි වීම නිසා පහසුතාව අඩු අගයක් ගන්නා බව පෙනේ. A හා B කොටස් සඳහා පහසුතාව පිළිවෙළින් 54%ක් හා 35%ක් බැගින් වේ.

*(i)* වන හා *(ii)* වන කොටස් සඳහා වගු ගත කිරීම සහ යා කිරීම් වර්ගයේ ආදර්ශ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීම වැඩි දියුණු කිරීමෙන් පහසුතා මට්ටම ඉහළ නංවා ගත හැකි වනු ඇත. *(iii)* හා *(iv)* කොටස් සඳහා පෙරහුරු පරීක්ෂණ පැවැත්වීම, ආදර්ශ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට සැලැස්වීම තුළින් ඉහළ පහසුතාව ඇති කර දීමට පුළුවන.

**3 ප්‍රශ්නය**

**නිපුණතාව : ශ්‍රී ලංකාවේ අතීත වෙළෙඳ සම්බන්ධතා හා බුදුදහමින් කලාව පෝෂණය වූ ආකාරය පිළිබඳ විමර්ශනාත්මක ව විමසීමේ හැකියාව පිරික්සීම**

**3.** (i) අනුරාධපුර හා පොළොන්නරු යුගවල දී ශ්‍රී ලංකාව සමඟ වෙළෙඳ සම්බන්ධතා පැවැත් වූ රටවල් **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) අතීතයේ දී ශ්‍රී ලංකාවට ආනයනය කළ වෙළෙඳ ද්‍රව්‍ය **දෙකක්** ද ශ්‍රී ලංකාවෙන් අපනයනය කළ වෙළෙඳ ද්‍රව්‍ය **දෙකක්** ද වෙන් වෙන් ව ලියා දක්වන්න. (ලකුණු 04 යි)

(iii) විදේශ සම්බන්ධතා වර්ධනය වීම කෙරෙහි බලපෑ ශ්‍රී ලංකාවේ පිහිටීමේ විශේෂ ලක්ෂණ **දෙකක්** පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

(iv) බුදුදහම නිසා මෙරට

*A* - ගෘහ නිර්මාණ ශිල්පය

*B* - කැටයම් හා මූර්ති කලාව

පෝෂණය වූ ආකාරය නිදසුන් සහිත ව පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)

**3. (i)** ඉන්දියාව, අරාබිය, පර්සියාව, ග්‍රීසිය, රෝමය, චීනය, බුරුමය, ඉතියෝපියාව, ඇබිසීනියාව

**(ලකුණු 01 × 03 = 03යි)**

**(ii)**
- ආනයන ද්‍රව්‍ය - රන්, රිදී, පබළු, වීදුරු භාණ්ඩ, ඖෂධ ජේඩ්, වයින්, තඹ, ලෝකඩ, බුමුතුරුණු, සුවඳ විලවුන්, පිඟන් භාණ්ඩ, අශ්වයන්, සේද
- අපනයන ද්‍රව්‍ය - අලි, ඇතුන්, ඇත් දළ, මුතු මැණික්, සක්බෙල්ලන්, කැස්බෑ ලෙලි, කපුරෙදි, වානේ

**(ලකුණු 01 × 04 = 04යි)**

**(iii)**
- ★ ඉන්දියන් සාගරයේ මධ්‍යගතව පිහිටීම
- ★ පෙර අපර දෙදිග වෙළඳ මාර්ගයේ කේන්ද්‍රගතව පිහිටීම
- ★ මෝසම් සුළං හා දියවැල් රටාව තුළ පිහිටීම
- ★ දිවයින වටා ස්වභාවික වරායන් පිහිටීම
- ★ ඉන්දියාවට ආසන්නව පිහිටීම

**(දෙකක් විස්තර කිරීමට ලකුණු 02 + 03 = 05යි)**

**(iv)** *A* ★ ගෘහ නිර්මාණ ශිල්පය

ස්ථූප, ස්ථූපඝර (නිද තිරියාය, ථූපාරාමය, ලංකාරාමය), බෝධිඝර, පිළිමගෙවල් (ලංකාතිලකය, ථූපාරාම පිළිමගෙය), ආරාම, පොහොය (ලෝවාමහා ප්‍රාසාදය) ගෙවල් නිර්මාණය, ප්‍රධානඝර (භාවනා කුටි)

*B* ★ කැටයම් හා මූර්ති කලාව

- ආගමික ගොඩනැගිලි උපාංගවල කැටයම් නිර්මාණ
- සඳකඩ පහණ, මුරගල, වාහල්කඩ කැටයම් (කොරවක්ගල)
- බුදු පිළිම (හිටි පිළිම, ඉදි පිළිම, සැතපෙන පිළිම, මාළිගාවිල, අවුකන,පොළොන්නරුව)
- බෝසත් පිළිම (අවලෝකිතේශ්වර, දඹේගොඩ, කුෂ්ඨරාජගල)

**(නිදසුන් සහිතව දැක්වීමට ලකුණු 03 + 03 = 06යි)**

3 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




03 ප්‍රශ්නය තෝරාගෙන ඇති පිරිස 78%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමි වේ.

| | | | |
|---|---|---|---|
| ඉන් ලකුණු | 00 - 04 | ප්‍රාන්තරයේ | 24%ක් ද |
| ලකුණු | 05 - 09 | ප්‍රාන්තරයේ | 31%ක් ද |
| ලකුණු | 10 - 13 | ප්‍රාන්තරයේ | 23%ක් ද |
| ලකුණු | 14 - 18 | ප්‍රාන්තරයේ | 22%ක් ද |

ලකුණු ලබාගෙන ඇත.

මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 22%ක් වන අතර, 24%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04ක් හෝ ඊට අඩුවෙනි.




- ⋆ මෙම ප්‍රශ්නයට අයත් කොටස් හා අනුකොටස් 05 අතුරෙන් පහසුතාව වැඩි ම කොටස (i) වන අතර, එහි පහසුතාව 61%කි. එසේම පහසුතාව අඩු ම කොටස (ii) වන අතර එහි පහසුතාව 48%කි.

ශ්‍රී ලංකාවේ අතීත වෙළෙඳ සම්බන්ධතා හා බුදු දහමින් කලාව පෝෂණය වූ ආකාරය පිළිබඳ විමර්ශනාත්මක ව විමසීමේ හැකියාව පිරික්සීම මෙම ප්‍රශ්නයෙන් බලාපොරොත්තු වේ. අනුරාධපුර හා පොළොන්නරු යුගවල දේශීය හා විදේශීය වෙළෙඳ සබඳතා පැවැත්වූ රටවල්, වෙළෙඳ භාණ්ඩ, වෙළෙඳ මධ්‍යස්ථානයක් ලෙස ශ්‍රී ලංකාවේ පිහිටීමේ වැදගත්කම *(i), (ii), (iii)* කොටස් වලින් පිරික්සන අතර, *(iv)* කොටසින් බුදු දහම තුළින් ශ්‍රී ලංකාවේ ශිල්ප කලාව පෝෂණය වූ ආකාරය විමර්ශනාත්මක ව විමසීම සිදු කර ඇත.

මෙම ප්‍රශ්නයේ වැඩි ම පහසුතාව පෙන්වා ඇත්තේ *(i)* වන කොටසට ය. එය 61%කි. *(ii)* කොටස අඩු ම පහසුතාව පෙන්වා ඇති කොටස යි. එය 48%කි. වෙළෙඳ ද්‍රව්‍ය පිළිබඳ අවබෝධයක් තිබුණ ද ආනයන හා අපනයන වෙළෙඳ ද්‍රව්‍ය වෙන් කොට දැක්වීමට අපොහොසත් වීම පහසුතාව අඩු වීමට හේතු වී තිබේ.

මෙම ප්‍රශ්නයේ *(iii)* කොටස භූගෝල විද්‍යා විෂයයෙන් ද තොරතුරු ලබා ගෙන පිළිතුර ලිවිය හැකි කොටසකි. එහි පහසුතාව 56%ක් වී ඇත. ශ්‍රී ලංකාවේ පිහිටීම හා සම්බන්ධ නිවැරදි අවබෝධයක් නොමැති වීම අඩු පහසුතාවට හේතු වී ඇත.

මෙම ප්‍රශ්නයේ *(iv)* කොටස බුද්ධදහම නිසා A - ගෘහ නිර්මාණ ශිල්පය හා B - කැටයම් හා මූර්ති කලාව පෝෂණය වූ අයුරු පෙන්වා දීමේ දී පිළිතුරට අදාළ විෂය කරුණු ඉදිරිපත් කිරීමේ හැකියාව පැවතුණ ද, නිදසුන් සහිත කරුණු සනාථ කිරීමේ නොහැකියාව, අඩු පහසුතාව කෙරෙහි බලපෑ ඇත. එම කොටස් දෙක ම සඳහා පහසුතාව 51%ක් බැගින් වේ. තව ද *(iv)* කොටසේ A හා B අනු කොටස් අතුරින් B හි අනුකොටස් ලෙස, වගන්තිය තුළින් කැටයම් හා මූර්ති කලාව යන ක්ෂේත්‍ර දෙකක තොරතුරු නිදසුන් මගින් ඉදිරිපත් කිරීමට නොහැකි වීම, ඉහළ සාධන මට්ටමකට ළඟා වීම තව දුරටත් දුෂ්කර වන්ට ඇත. ප්‍රශ්නයට අන්තර්ගත වචනවල අරුත වෙන්ව වටහා ගැනීමට නොහැකි වී ද යන්න හැඟෙන තත්ත්වයකි.

මෙම ඒකක සාකච්ඡා කිරීමේ දී පෙර අපර දෙදිග වෙළෙඳ සබඳතා පැවැත් වූ රටවල් ලෝක සිතියම් ඇසුරින් සාකච්ඡා කිරීම, පංති කාමරය තුළ සිතියම් ආශ්‍රිතව තොරතුරු ප්‍රදර්ශනය කිරීම, ආනයන හා අපනයන වෙළෙඳ භාණ්ඩ, රටවල් අනුව වගු ගත කිරීම, ශ්‍රී ලංකාවේ පිහිටීමේ සුවිශේෂී වැදගත්කම සිතියම් ඇසුරින් පෙන්වා දීම, පෙළ පොතේ ඇතුළත් කර ඇති ගෘහ නිර්මාණ ශිල්ප ආශ්‍රිත උපාංග, කැටයම් හා මූර්ති කලාවන් පිළිබඳ ව රූප සටහන් ආශ්‍රයෙන් සාකච්ඡා කිරීම හා අධ්‍යාපන චාරිකාවල දී මේවා පිළිබඳ ව වැඩි අවධානයක් යොමු කරවීම ප්‍රතිඵල දායක විය හැක.

**4 ප්‍රශ්නය**

**නිපුණතාව : ශ්‍රී ලංකාවේ භෞතික පරිසරය හා ඉතිහාසය අතර ඇති සම්බන්ධතාව පිළිබඳ දැනුම ද, කෝට්ටේ යුගය දක්වා වූ ඓතිහාසික සිදුවීම් පිළිබඳ දැනුම ද පිරික්සීම**

**4.** (i) පහත සඳහන් ප්‍රදේශ හැඳින් වූ ඓතිහාසික නම් මොනවා දැයි වරහන් තුළින් තෝරා ලියන්න.

*A* - යාපනය අර්ධද්වීපය

*B* - දළ වශයෙන් වර්තමාන උතුරුමැද පළාතට අයත් වන ප්‍රදේශය

*C* - ශ්‍රී ලංකාවේ මධ්‍යම කඳුකරය

(සබරගමුව, මලය රට, තමන්කඩුව, පිහිටි රට, නකදිව, දිගාමඩුල්ල) (ලකුණු 03 යි)

(ii) පහත සඳහන් සිද්ධිවලට සම්බන්ධ පුද්ගලයන් කවුරුන් දැයි වරහන් තුළින් තෝරා ලියන්න.

*A* - පළමු පෞද්ගලික ආරාම පූජාව සිදු කිරීම

*B* - දන්ත ධාතුන් වහන්සේ ශ්‍රී ලංකාවට වැඩම කරවන අවධියේ අනුරාධපුර පාලනය කිරීම

*C* - බොහෝ ශිලා ලිපි කරවීම හා තුලාභාර දාන දීම සම්බන්ධයෙන් ප්‍රසිද්ධ වීම

*D* - සංගමු විහාර සෙල්ලිපියට අනුව පළමුවැනි පරාක්‍රමබාහු රජු සමඟ සම්මුතියකට එළඹීම

(වෝහාරික තිස්ස, දෙවැනි ගජබාහු, සිරිසඟබෝ, කීර්ති ශ්‍රී නිශ්ශංකමල්ල, සහස්සමල්ල, වළගම්බා, කිත්සිරිමෙවන්, මානාභරණ) (ලකුණු 04 යි)

(iii) පොළොන්නරුවෙන් පසුව පාලන මධ්‍යස්ථාන තෝරා ගැනීමේ දී පාලකයන්ගේ අවධානය යොමු වූ කරුණු **දෙකක්** පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

(iv) හයවැනි පරාක්‍රමබාහු රාජ්‍ය සමය දේශපාලන හා සංස්කෘතික වශයෙන් වැදගත් වන්නේ ඇයි දැයි නිදසුන් සපයමින් විස්තර කරන්න. (ලකුණු 06 යි)

**4. (i)** *A* - නකදිව

*B* - පිහිටි රට

*C* - මලය රට **(ලකුණු 01 × 03 = 03යි)**

**(ii)** *A* - වළගම්බා

*B* - කිස්තිසිරිමෙවන්

*C* - කීර්ති ශ්‍රී නිශ්ශංකමල්ල

*D* - දෙවැනි ගජබාහු **(ලකුණු 01 × 04 = 04යි)**

**(iii)**
- ★ ආරක්ෂාව
- ★ කෘෂිකාර්මික පහසුව
- ★ වෙළෙඳ කටයුතු (කුළුබඩු, පුවක්, කුරුඳු) සඳහා පහසු ප්‍රදේශ

**(කරුණු දෙකක් විස්තර කිරීමට ලකුණු 02 + 03 = 05යි)**

**(iv)**
- ● දේශපාලන
  - ★ යාපනය, වන්නි ප්‍රදේශ ඈඳා ගැනීම (සපුමල් කුමරු)
  - ★ මලය රටෙහි කැරැල්ල මර්දනය (අම්බුළුගල කුමරු)
  - ★ වන්නි ප්‍රදේශයේ ස්වාධීන පාලකයන් අවනත කර ගැනීම
  - ★ අවසන් වරට ඒකීය පාලනයක් ඇති කිරීම
  - ★ විජයනගර් අධිරාජ්‍යයේ තොටුපළක් ආක්‍රමණය කිරීම (අද්වීරරාම පටුන)

- සංස්කෘතික
    - ⋆ අධ්‍යාපනයේ දියුණුව (පිරිවෙන් අධ්‍යාපනය හා පිරිවෙන්)
      උදා : පැපිලියානේ සුනේත්‍රාදේවි පිරිවෙන
    - ⋆ සිංහල සංදේශ සාහිත්‍යයේ දියුණුව
      උදා: සැලළිහිණි, ගිරා, හංස ආදි සංදේශ කාව්‍ය
    - ⋆ ශ්‍රේෂ්ඨ පඬිවරු බිහි වීම
      උදා: තොටගමුවේ ශ්‍රී රාහුල, වෑත්තෑවේ හිමි
    - ⋆ වෙහෙර විහාර නිර්මාණය/ අනුග්‍රහය
    - ⋆ හින්දු කෝවිල් නිර්මාණයට අනුග්‍රහය දැක්වීම

**(නිදසුන් දක්වමින් විස්තර කිරීම සඳහා ලකුණු 03 + 03 = 06යි)**

4 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




04 ප්‍රශ්නය තෝරාගෙන ඇති පිරිස 48%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමි වේ.

| | | | | |
|---|---|---|---|---|
| ඉන් | ලකුණු | 00 - 04 | ප්‍රාන්තරයේ | 49%ක් ද |
| | ලකුණු | 05 - 09 | ප්‍රාන්තරයේ | 26%ක් ද |
| | ලකුණු | 10 - 13 | ප්‍රාන්තරයේ | 13%ක් ද |
| | ලකුණු | 14 - 18 | ප්‍රාන්තරයේ | 12%ක් ද |

ලකුණු ලබාගෙන ඇත.

මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 12%ක් වන අතර, 49%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04ක් හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් කොටස් හා අනුකොටස් 9 අතුරෙන් පහසුතාව වැඩි ම අනුකොටස (ii) *A* හා *C* වන අතර එහි පහසුතාව 60% බැගින් වේ. එසේම පහසුතාව අඩු ම කොටස (i) *B* වන අතර එහි පහසුතාව 18%කි.

ශ්‍රී ලංකාවේ භෞතික පරිසරය හා දේශපාලන ඉතිහාසය අතර ඇති සම්බන්ධතාව පිළිබඳ දැනුම හා අනුරාධපුර යුගයේ සිට කෝට්ටේ යුගය දක්වා වූ ඓතිහාසික සිදුවීම් පිළිබඳ දැනුම ද පිරික්සීම සඳහා මෙම ප්‍රශ්නය සැකසී ඇත.

මෙම ප්‍රශ්නයේ වැඩි ම පහසුතාව දක්වා ඇත්තේ (ii) කොටසේ A හා C අනුකොටස්වලට ය. එනම් 60% බැගිනි. පහසුතාව අඩු ම වන්නේ (i) කොටසේ B වන අතර, එහි පහසුතාව 18% කි.

ප්‍රශ්නයේ(i)කොටසින්විමසා ඇත්තේශ්‍රී ලංකාවේ ඓතිහාසික ප්‍රදේශ හැඳින්වූ නාම පිළිබඳ දැනුම යි. ප්‍රශ්නයට අදාළ පිළිතුරු වරහන් තුළ සපයා ඇත. එසේ වුව ද එම කොටසේ සමස්ත පහසුතාව 34.7%කි. ශ්‍රී ලංකාවේ ඓතිහාසික ප්‍රදේශ හඳුනා ගැනීමේ දී ඓතිහාසික තොරතුරු පිළිබඳ නිවැරදි අවබෝධයක් නොතිබීම එයට හේතු වන්නට ඇත.

ප්‍රශ්නයේ (ii) කොටසට අදාළ පිළිතුරු, වරහන්වලින් තෝරා ගැනීමට අවස්ථාව ලබා දී ඇත. ශ්‍රී ලංකාවේ රජවරු හා එම රාජධානි සමයන්හි සිදු වූ සිද්ධි නිවැරදි ව ගළපා ගැනීම අපේක්‍ෂා කෙරේ. මෙම කොටසට ම පහසුතාව 52.75%ක් වන අතර, එහි A - පළමු ආරාම පූජාව හා C - තුලාභාර දාන දීම සම්බන්ධ රජවරු ඉතිහාසයේ ජනප්‍රිය රාජ චරිත වීමත් වෙනත් ශ්‍රේණිවල දී ඒ පිළිබඳ ලබා ගත් දැනුම ද, 60% තරම් වූ ඉහළ පහසුතාව කෙරෙහි බලපා ඇත.

(iii) කොටස සඳහා පහසුතාව 34%කි. විෂය කරුණු දැක්වීම හා පැහැදිලි කිරීම සඳහා ලකුණු වෙන් වෙන් ව පැවරේ. කරුණු වශයෙන් දැක්වුව ද ප්‍රකාශන ශක්තිය අඩු මට්ටමක පැවතීම නිසා පහසුතාව අඩු වන්නට ඇත.පාලන මධ්‍යස්ථාන හා පාලකයින් ගණනාවකින් යුත් ඓතිහාසික තොරතුරු විමසා ඇති නිසා කරුණු ඉදිරිපත් කිරීමේ දුෂ්කරතාවයක් ඇති වී තිබේ.

(iv) කොටසේ පහසුතාව 26%කි. හයවන පරාක්‍රමබාහු රාජ්‍ය සමය පිළිබඳ දේශපාලන හා සංස්කෘතික තොරතුරු වෙන් කර විශ්ලේෂණය කිරීමේ හැකියාව මෙන්ම පරාක්‍රමබාහු නමින් රජවරු ගණනාවක් සිටීම නිසා නිවැරදි රාජ්‍ය පාලන සමය වෙන්කර හඳුනාගැනීමට අපොහොසත් වන්නට ඇත. එබැවින් පහසුතාව අඩු වන්නට ඇතැයි විශ්වාස කළ හැකි ය.

රාජධානි, පාලකයින්, එම කාලයේ සිදු වූ ඓතිහාසික සිද්ධීන් පිළිබඳ වගු ගත කිරීම, ඒවා පංති කාමරය තුළ ප්‍රදර්ශනය කිරීම තුළින් පහසුතාව ඉහළ මට්ටමකට ලඟා කර දීමට උදව් කර ගත හැකිය.

### 5 ප්‍රශ්නය

**නිපුණතාව : කෝට්ටේ යුගයේ සිට බ්‍රිතාන්‍ය පාලනය දක්වා කාලය තුළ ඇති වූ දේශපාලන, ආර්ථික, සමාජ සිදුවීම් පිළිබඳ තුළනාත්මක අවබෝධය පිරික්සීම**

**5.** (i) විජයබා කොල්ලයෙන් පසුව ඇති වූ

*A* - කෝට්ටේ

*B* - සීතාවක

*C* - රයිගම

යන රාජධානිවල ආරම්භක පාලකයන් **තිදෙනා** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) පහත *A, B, C* හා *D* වලින් දැක්වෙන ඓතිහාසික සිද්ධීන් හා සම්බන්ධ පුද්ගලයන් කවුරුන් දැයි වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න.

*A* - පෘතුගීසීන්ගේ රූකඩයක් බවට පත් වූ කෝට්ටේ පාලකයා

*B* - මුල් වතාවට පෘතුගීසීන්ට එරෙහිව දැඩි පිළිවෙතක් අනුගමනය කළ යාපනයේ පාලකයා

*C* - 'කිච් ලිපිය' අනුව ශ්‍රී ලංකාවේ මුහුදුබඩ පළාත් ඉංග්‍රීසීන්ට භාරදීමට අකමැති වූ ලන්දේසි ආණ්ඩුකාරවරයා

*D* - ක්‍රි.ව. 1815 උඩරට ගිවිසුමට අත්සන් කළ බ්‍රිතාන්‍ය ආණ්ඩුකාරවරයා

(ජෝන් ඩොයිලි, රොබට් බ්‍රවුන්රිග්, දොන් ජුවන් ධර්මපාල, වීදිය බණ්ඩාර, සංකිලි, පරරාජසේකරම්, ෆන් එංගල්බෙක්, රයික්ලොෆ් ෆන් ගුන්ස්) (ලකුණු 04 යි)

(iii) ක්‍රි.ව. 1818 දී උඩරට ප්‍රදේශවල ආරම්භ වූ බ්‍රිතාන්‍ය විරෝධී නිදහස් අරගලය අසාර්ථක වීමට හේතු වූ කරුණු **දෙකක්** පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

(iv) වතු වගාව ව්‍යාප්ත වීම නිසා ශ්‍රී ලංකාවේ ආර්ථික හා සමාජ ක්ෂේත්‍රවල ඇති වූ වෙනස්කම් **එක** බැගින් නිදසුන් ඉදිරිපත් කරමින් විස්තර කරන්න. (ලකුණු 06 යි)

**5. (i)** *A* - හත්වන බුවනෙකබාහු

*B* - මායාදුන්නේ

*C* - රයිගම් බණ්ඩාර (මද්දුම බණ්ඩාර) **(ලකුණු 01 × 03 = 03යි)**

**(ii)** *A* - දොන් ජුවන් ධර්මපාල

*B* - සංකිලි

*C* - ෆන් එංගල්බෙක්

*D* - රොබට් බ්‍රවුන්රිග් **(ලකුණු 01 × 04 = 04යි)**

**(iii)**
* අසංවිධානාත්මක බව
* සටනේ නායකයන් අතර එකුමුතුබවක් නොවීම
* ඇතැම් දේශීය නායකයන් බ්‍රිතාන්‍යයන්ට පක්ෂපාති වීම (මොල්ලිගොඩ)
* දොරේසාමි රාජ්‍ය උරුමක්කරුවකු නොවන බව හෙළි වීම
* බ්‍රිතාන්‍යයන් ගේ ආයුධ ශක්තිය ප්‍රබල වීම
* බ්‍රිතාන්‍යයන්ගේ කෲර මර්ධනකාරී ප්‍රතිපත්තිය (බිම්පාලු ප්‍රතිපත්තිය)
* දළඳා වහන්සේ බ්‍රිතාන්‍යයන් සතු කර ගැනීම **(කරුණු දෙකක් විස්තර කිරීමට ලකුණු 02 + 03 = 05යි)**

**(iv)**
- ආර්ථික
  * පාරිභෝගික කෘෂිකර්මය පිරිහීම
  * ආනයන-අපනයන ආර්ථිකයකට යොමු වීම
  * මුදල් හා බැංකු කටයුතු වර්ධනය
  * නව රැකියා බිහිවීම
  * යටිතල පහසුකම් දියුණු වීම

- සමාජ
  - ★ දේශීය සංස්කෘතිය පිරිහී යාමට පටන් ගැනීම
  - ★ මධ්‍යම පන්තිය බිහිවීම
  - ★ ඉන්දීය ශ්‍රමිකයන්ගේ ආගමනය
  - ★ ධනපති-කම්කරු පන්ති භේදය ඇතිවීම

**(ක්ෂේත්‍ර දෙකෙන් වෙනස්කම් එක බැගින් විස්තර කිරීම සඳහා ලකුණු 03 + 03 = 06යි)**

5 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




05 ප්‍රශ්නය තෝරාගෙන ඇති පිරිස 59%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමි වේ.

ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 21%ක් ද
ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 30%ක් ද
ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 24%ක් ද
ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 25%ක් ද
ලකුණු ලබාගෙන ඇත.

මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 25%ක් වන අතර, 21%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04ක් හෝ ඊට අඩුවෙනි.




★ මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 9 අතුරෙන් පහසුතාව වැඩි ම අනුකොටස (i) *C* වන අතර එහි පහසුතාව 84%කි. එසේම පහසුතාව අඩු ම කොටස (ii) *B* වන අතර එහි පහසුතාව 39%කි.

කෝට්ටේ යුගයේ සිට බ්‍රිතාන්‍ය පාලනය දක්වා කාලය තුළ ඇති වූ දේශපාලන, ආර්ථික, සමාජ සිදුවීම් පිළිබඳ තුලනාත්මක අවබෝධය පිරික්සීම සඳහා මෙම ප්‍රශ්නය සැකසී ඇත.

මෙහි *(i)* කොටස සඳහා පිළිතුරු සැපයීමේ පහසුතාව සමස්තයක් ලෙස 70.67%ක් වේ. කෝට්ටේ රාජ්‍යය බෙදී යාම හා සම්බන්ධව ඓතිහාසික කථා පුවතකින් (විජයබා කොල්ලය) මෙම ප්‍රශ්නයට අදාළ දැනුම විමසා බැලීම කර ඇත. මෙම ඓතිහාසික සිද්ධිය සිසුන් අතර ජනප්‍රියව පැවැතීම ද කුමරුගේ නාමය සමග රාජධානිනාමය බැඳී පැවතීම ද පහසුතාව වැඩි වීමට ද හේතු වන්නට ඇත.

මෙහි *(ii)* කොටසේ A අනු කොටසින් ද කෝට්ටේ රාජධානිය පිළිබඳ ඓතිහාසික සිද්ධීන් හා පුද්ගලයින් පිළිබඳ ව දැනුම විමසා බැලීම සිදු වේ. ප්‍රශ්නයට අදාළ පිළිතුරු වරහන් තුළ දී ඇති නම්වලින් තෝරා ගැනීමට හැකි වීම මෙම ප්‍රශ්නයේ පහසුතාව ඉහළ අගයක් ගැනීමට හේතු වන්නට ඇත. මෙම කොටසේ සමස්ත පහසුතාව 66.25%කි. එම කොටසේ ඉහළ ම පහසුතාව දක්වා ඇත්තේ *(ii)* D කොටසට ය. එය 80%ක් තරම් ඉහළ අගයක් ගනී.

*(iii)* කොටසින් ක්‍රි.ව. 1818 බ්‍රිතාන්‍ය විරෝධී පළමු නිදහස් අරගලය පිළිබඳ ව විමසා බැලේ. ශ්‍රී ලංකාවේ වාර්ෂික ව ජාතික වීරයන් සැමරීමේ දිනයන්හි මේ හා සම්බන්ධ තොරතුරු මුද්‍රිත හා විද්‍යුත් මාධ්‍ය මගින් ද චිත්‍රපටි හා ටෙලිනාට්‍ය මගින් ද දැනගැනීමට ඉඩ ප්‍රස්තාව ලැබීම ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පහසු වීමට හේතු වන්නට ඇත. ඊට අමතරව පූජනීය ස්ථානවල බිතු සිතුවම් ඇසුරෙන් ද තොරතුරු රැස් කර දැනුම වර්ධනය කර ගැනීමට ඉඩ ප්‍රස්ථාව ඇති බැවින් 53% තරම් ඉහළ පහසුතාව ලබා ගැනීමට හැකි වී ඇත.

*(iv)* කොටසට අදාළ ව පහසුතාව 43%කි. මෙම ප්‍රශ්නයෙන් ද විමසා ඇත්තේ වතු වගාව ව්‍යාප්ත වූ සමයේ ශ්‍රී ලංකාවේ ආර්ථික හා සමාජ ක්ෂේත්‍රවල ඇති වූ වෙනස්කම් නිදසුන් ආශ්‍රයෙන් ඉදිරිපත් කිරීම ය. විස්තර කිරීමේ හැකියාව ද, වෙනස්කම් සඳහා නිදසුන් සැපයීමේ හැකියාව ද නොමැති වීම මෙම කොටස සඳහා අඩු පහසුතාව ඇති වීමට හේතු වන්නට ඇත.

මෙහි දී *(i), (ii)* කොටස්වලට අදාළ ව කාලය, පුද්ගලයින්, සිදුවීම් සහ රාජ්‍ය පාලන සමය වගු ගත කිරීම, ඇඳීම් වර්ගයේ ආදර්ශ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීම වැනි අභ්‍යාසවල නිරත කරවීම සුදුසු වේ.

*(iii), (iv)* කොටස් සඳහා කරුණු පැහැදිලි ව ඉදිරිපත් කිරීම හා නිදසුන් සැපයීමේ අභ්‍යාස කරවීම වඩාත් සුදුසු වේ. එසේම *(iv)* කොටසට අදාළ ව එක් එක් ක්ෂේත්‍ර වෙන් කර හඳුනා ගැනීමේ හැකියාව වැඩි දියුණු වීම හා ඒවායේ වෙනස්කම් පිළිබඳ කරුණු ඉදිරිපත් කිරීමට අවකාශ සැලසීමට අවශ්‍ය අභ්‍යාස කරවීම වඩාත් වැදගත් වේ. ප්‍රශ්නයක වගන්ති ස්වරූපයෙන් තිබෙන උප අනු කොටස් හඳුනා වෙන් කර ගැනීමේ නොහැකියාව ද *(iv)* වන කොටස සඳහා අඩු පහසුතාව ඇති වීම කෙරෙහි බලපාන්නට ඇත.

**6 ප්‍රශ්නය**

**නිපුණතාව : ශ්‍රී ලංකාවේ බ්‍රිතාන්‍ය පාලන සමයේ ඇති වූ දේශපාලන සංසිද්ධි පිළිබඳ දැනුම අවබෝධය හා 19 සියවසේ ඇති වූ සංස්කෘතික පුණර්ජීවය පිළිබඳ විශ්ලේෂණාත්මකව ඇගයීමේ හැකියාව පිරික්සීම**

**6.** (i) පහත සඳහන් කාර්යයන් කවර ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණ අනුව ක්‍රියාත්මක වූයේ දැයි දක්වන්න.

*A* - පැරණි ගම්සභාවේ බලතල උසාවිවලට පැවරීම

*B* - විධායක කාරක සභා ක්‍රමය ඇරඹීම

*C* - උත්තර මන්ත්‍රී මණ්ඩලය (සෙනෙට් සභාව) ස්ථාපිත කිරීම (ලකුණු 03 යි)

(ii) පහත *A*, *B*, *C* හා *D* වලින් දක්වා ඇති තොරතුරු හා සම්බන්ධ පුද්ගලයන් කවුරුන් දැයි දක්වන්න.

*A* - ලංකා සමසමාජ පක්ෂයේ ආරම්භක නායකයා

*B* - නිදහස් ශ්‍රී ලංකාවේ පළමු අගමැති

*C* - නිදහස් අධ්‍යාපනයේ පියා

*D* - ශ්‍රී ලංකාවේ පළමු විධායක ජනාධිපති (ලකුණු 04 යි)

(iii) නිදහසින් පසු මෙරට අධ්‍යාපන සංවර්ධනය සඳහා ගත් ක්‍රියාමාර්ග **දෙකක්** පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

(iv) පහත නම් සඳහන් අයගෙන් **දෙදෙනකු** තෝරාගෙන ඔවුන්ගෙන් ආගමික හා සංස්කෘතික පුනර්ජීවනයට සිදු වූ සේවාවන් විස්තර කරන්න.

*A* - අනගාරික ධර්මපාලතුමා

*B* - හික්කඩුවේ ශ්‍රී සුමංගල නා හිමි

*C* - පොන්නම්බලම් රාමනාදන් මහතා

*D* - ආරුමුග නාවලර්තුමා

*E* - එම්. සී. සිද්දි ලෙබ්බේ මහතා

*F* - ටී. බී. ජයා මහතා (ලකුණු 06 යි)

**6. (i)** *A* - කෝල්බෲක් කැමරන්/ 1833 ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය

*B* - ඩොනමෝර්/ 1931 ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය

*C* - සෝල්බරි/ 1947 ආණ්ඩුක්‍රම ප්‍රතිසංස්කරණය **(ලකුණු $01 \times 03 = 03$යි)**

**(ii)** *A* - ආචාර්ය එන්.එම්. පෙරේරා මහතා

*B* - ඩී.එස්. සේනානායක මහතා/ මාහාමාන්‍ය ඩී.එස්. සේනානායක මහතා

*C* - ආචාර්ය සී.ඩබ්.ඩබ්. කන්නන්ගර මහතා/ සී.ඩබ්.ඩබ්. කන්නන්ගර මහතා

*D* - ජේ.ආර්. ජයවර්ධන මහතා **(ලකුණු $01 \times 04 = 04$යි)**

**(iii)**
- ★ අධ්‍යාපනය ස්වභාෂාවෙන් ලබා දීම
- ★ දිවා ආහාරය නැවත ලබා දීම
- ★ ශිෂ්‍යත්ව ලබා දීම ක්‍රමවත් කිරීම
- ★ විද්‍යාගාර පහසුකම්
- ★ විශ්ව විද්‍යාල පහසුකම් දියුණු කිරීම
- ★ ආධාර ලබන පාසල්/ ගුරු විද්‍යාල රජයට පවරා ගැනීම
- ★ අධ්‍යාපන පරිපාලන සංවිධානය කිරීම
- ★ පෙළපොත් හා නිල ඇඳුම් නොමිලේ ලබා දීම

**(ක්‍රියාමාර්ග දෙකක් විස්තර කිරීමට ලකුණු $02 + 03 = 05$යි)**

**(iv)** *A* • **අනගාරික ධර්මපාල තුමා**

- සිංහල බෞද්ධයන් තුළ ජාතික අභිමානයක් ඇති කිරීමට කටයුතු කිරීම
- මහා බෝධි සමාගම පිහිටු වීම
- බෞද්ධ පාසල් පිහිටුවීමට දායක වීම
- බුද්ධගයාව බේරා ගැනීමට කටයුතු කිරීම

*B* • **හික්කඩුවේ ශ්‍රී සුමංගල නාහිමි**

- මාළිගාකන්දේ විද්‍යෝදය පිරිවෙන පිහිටු වීම
- සම්භාව්‍ය සිංහල කෘති සංස්කරණය/ පරිවර්තනය කිරීම
  උදා: මහාවංශය
- ශබ්ද කෝෂයක් නිර්මාණය

*C* • **පොන්නම්බලම් රාමනාදන් මහතා**

- හින්දු ආගමික පුනර්ජීවයක් ඇති කිරීමට මූලික වීම
- සිංහල දෙමළ සමගිය ඇති කිරීමට කටයුතු කිරීම
- යාපනයේ පරමේශ්වර විද්‍යාලය හා රාමනාදන් විද්‍යාලය පිහිටු වීමට මුල්වීම

*D* • **අරුමුග නාවලර් තුමා**

- හින්දු පුනර්ජීවන ව්‍යාපාරයේ නායකත්වය ගැනීම
- යාපනයේ වන්නාර් පන්නෙයි ඉංග්‍රීසි විද්‍යාලය පටන් ගැනීම
- බයිබලය දෙමළ භාෂාවට පරිවර්තනය කිරීම (පර්සිවල් දේවගැතිවරයා සමග)
- 1853 ශෛව පරිපාලන සභාව හා හින්දු අධ්‍යාපන සභාව පිහිටු වීම

*E* • **එම්.සී. සිද්දි ලෙබ්බේ මහතා**

- ඉස්ලාම් සංස්කෘතික ප්‍රබෝධයක් ඇති කිරීමට කටයුතු කිරීම
- අරාබි හා ඉංග්‍රීසි ඉගෙනීමට තම ජනතාව උනන්දු කරවීම
- මද්රාසා විද්‍යාල ප්‍රතිසංවිධානය කිරීම
- මරදානේ සහිරා විද්‍යාලය ඇරඹීම
- ''මුස්ලිම් නේෂන්'' හා ''ඥාන දීපම්'' පුවත්පත් ආරම්භ කිරීම

*F* • **ටී.බී. ජයා මහතා**

- ''සිලෝන් මුස්ලිම් රිවීව්'' සඟරාව තුළින් අධ්‍යාපනය කෙරෙහි මුස්ලිම් ජනතාව උනන්දු කිරීම
- සහිරා විද්‍යාලයේ විදුහල්පති ලෙස කටයුතු කිරීම
- ශ්‍රී ලංකාවේ ප්‍රථම පාර්ලිමේන්තුවේ කම්කරු ඇමතිවරයා ලෙස කටයුතු කිරීම

**(මින් දෙදෙනෙකුගේ සේවාවන් විස්තර කිරීමට ලකුණු 03 + 03 = 06යි)**

6 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




06 ප්‍රශ්නය තෝරාගෙන ඇති පිරිස 29%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමි වේ.

ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 20%ක් ද
ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 38%ක් ද
ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 25%ක් ද
ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 17%ක් ද
ලකුණු ලබාගෙන ඇත.

මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 17%ක් වන අතර, 20%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04ක් හෝ ඊට අඩුවෙනි.




★ මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 9 අතුරෙන් පහසුතාව වැඩි ම අනුකොටස (ii) *C* වන අතර එහි පහසුතාව 89%කි. එසේම පහසුතාව අඩු ම කොටස (ii) *A* වන අතර එහි පහසුතාව 29%කි.

බ්‍රිතාන්‍ය යුගයේ දී ඇති වූ දේශපාලන සංස්කෘතික වෙනස්වීම් පිළිබඳ දැනුම හා නිදහසින් පසුව මෙරට ඇති වූ අධ්‍යාපනික සංවර්ධනය පිළිබඳ තුළනාත්මක ව විමසීමේ හැකියාව පිරික්සීම සඳහා මෙම ප්‍රශ්නය සැකසී ඇත.

6 ප්‍රශ්නයේ (i) කොටසේ A, B, C යන අනුකොටස් සඳහා පහසුතාව 46% හෝ එම ප්‍රමාණය ඉක්මවා ඇත. එහි ආණ්ඩුක්‍රම, ප්‍රතිසංස්කරණ හා යෝජනා සම්බන්ධ දැනුම විමසීම සිදු කොට ඇත.

(ii) කොටස ද ශ්‍රී ලංකා දේශපාලන ඉතිහාසයේ යම් යම් සිද්ධි හා සම්බන්ධ පුද්ගලයන් නාම පිළිබඳ විමසා බැලීම සිදු කර ඇත. B හා C පිළිවෙලින් පහසුතාව 65% සහ 89% තරම් ඉහළ මට්ටමක පැවතීම කෙරෙහි හේතු වන්නට ඇත්තේ එම චරිත දේශපාලන හා අධ්‍යාපන ක්ෂේත්‍රයේ පියවරුන් සේ සලකා වාර්ෂිකව ගරු බුහුමනට ලක් වීම පාසල් මට්ටමින් පවා සිදුවන නිසා විය හැකිය. (ii) කොටසේ A අඩුම පහසුතාව වූ 29%ක් තරම් වීමට හේතු වී ඇත්තේ වාමාංශික ව්‍යාපාර පිළිබඳ මෙන්ම රටෙහි දේශපාලන තත්ත්වය සම්බන්ධයෙන් සිසු අවධානය අඩු වීම නිසා විය හැක.

(iii) කොටසට අදාළ ව පෙළපොතේ සපයා ඇති විෂය කරුණුවලට අමතරව සත්‍ය වශයෙන් රට තුළ ක්‍රියාත්මක වන අධ්‍යාපන සංවර්ධන ප්‍රවණතා සියල්ල මෙම කොටසට පිළිතුරු සැපයීමේ දී නිදසුන් ලෙස ඉදිරිපත් කළ හැකි ය. විෂය නිර්දේශයට, ගුරුවරයාට හා පෙළපොතට ශිෂ්‍යයා සීමා නොවී නූතන අධ්‍යාපන සංවර්ධන ක්‍රියාමාර්ග සියල්ල ඉදිරිපත් කළ හැකි ය. එමෙන් ම ශිෂ්‍යයෙකු ලෙස තමා විඳින වරප්‍රසාද ද, විදුහල තුළ සිදු ව ඇති භෞතික සංවර්ධනය ද මීට ඇතුළත් කළ හැකි ය. එසේ වුව ද එහි පහසුතාව 46%කට සීමා වී ඇත. පෙළ පොත හා විෂය නිර්දේශයෙන් බැහැර ව දෛනික පුවත් පිළිබඳ සිසුන්ගේ දැනුම අඩුකම, විමසිලිමත් නොවීම සහ තොරතුරු විචාරශීලී ව ඉදිරිපත් කිරීමේ නොහැකියාව අඩු පහසුතාව පෙන්නුම් කිරීමට හේතු වන්නට ඇත.

මෙම ප්‍රශ්නයේ (iv) කොටසට අදාළ ව ශ්‍රී ලංකාවේ ආගමික, සංස්කෘතික පුනර්ජීවනයට සම්බන්ධ වූ ආගමික නායකයින්ගේ සේවාවන් පිළිබඳ ව දැනුම විමසීම කර ඇත. එහි පහසුතාව 49%ක් වේ. නම් කර ඇති පුද්ගලයන් හයදෙනා අතරෙන් දෙදෙනෙකු තෝරා ගෙන පිළිතුරු සැපයීමට නියමිත වුව ද තෝරා ගන්නා ලද අයගෙන් සිදු වූ සේවාවන්, ආගමික හා සංස්කෘතික වශයෙන් බෙදා වෙන් කර දැක්වීමේ නිපුණතාවය අඩු බවක් විද්‍යාමාන වේ.

පන්ති කාමර ඉගෙනුම් ඉගැන්වීමේ ක්‍රියාවලියේ දී මෙම අයගේ ඡායාරූප හා තොරතුරු බිත්ති පුවත්පත්වල ප්‍රදර්ශනය කිරීම, කණ්ඩායම් ක්‍රියාකාරකම්වල නිරත කරවීම, පුද්ගල චරිත පිළිබඳ ක්ෂේත්‍ර පොත් නිර්මාණය කරවීම, මුද්‍රිත හා විද්‍යුත් මාධ්‍ය මගින් මෙම පුද්ගලයින් පිළිබඳ කරුණු එක්රැස් කිරීමට යොමු කිරීම තුළින් ද දැනුම යාවත්කාලීන කර ගත හැකි ය. ඒ ඒ පුද්ගලයින් පිළිබඳ ක්ෂණික කථා පැවැත්වීම තුළින් තවදුරටත් දැනුම වර්ධනය කර ගත හැක.

## III කොටස

**7 ප්‍රශ්නය**

**නිපුණතාව : වෛදික යුගයේ සිට ගුප්ත දක්වා ඉන්දියානු ආගමික හා සංස්කෘතික අභිවර්ධනය පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම**

7. (i) පහත *A*, *B* හා *C* වලින් දක්වා ඇති එක් එක් කරුණට අදාළ පිළිතුර අනුපිළිවෙළින් ලියා දක්වන්න.
   *A* - ආර්යාගමනයට පෙර ඉන්දියාවේ වයඹදිග ප්‍රදේශයේ ව්‍යාප්තව තිබූ ශිෂ්ටාචාරය
   *B* - ආර්යයන් ඉන්දියාවට සංක්‍රමණය වීමට භාවිත කළ ප්‍රධාන දුර්ග මාර්ගය
   *C* - 'සප්ත සින්දු' ප්‍රදේශයේ වර්තමාන නම (ලකුණු 03 යි)

(ii) *A* - වෛදික ග්‍රන්ථ **දෙකක්** ද
   *B* - වෛදික යුගයේ අදහනු ලැබූ දෙවිවරුන් **දෙදෙනකු** ද නම් කරන්න. (ලකුණු 04 යි)

(iii) අශෝක අධිරාජයාගේ ආගමික සේවාව කරුණු **දෙකක්** ඇසුරෙන් විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) ගුප්ත යුගයේ දී අධ්‍යාපනය, සාහිත්‍යය හා කලාව යන ක්ෂේත්‍රවල ඇති වූ දියුණුව පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

**7. (i)** *A* - ඉන්දු නදී/ මොහොන්දජාරෝ-හරප්පා
*B* - ඛයිබර්
*C* - පංජාබ් **(ලකුණු 01 × 03 = 03යි)**

**(ii)** *A* - ඍග්, යජුර්, සාම, අථර්වන්
*B* - ඉන්ද්‍ර, වරුණ, අග්නි, යම, පෘථිවි, මරුත් **(ලකුණු 01 × 04 = 04යි)**

**(iii)**
- ⋆ තුන්වන ධර්ම සංගායනාවට අනුග්‍රහය දැක්වීම
- ⋆ ධර්ම දූත සේවාව
- ⋆ වෙනත් ආගම්වලට අනුග්‍රහ දැක්වීම
- ⋆ වෙහෙර විහාර කරවීම
- ⋆ ධර්ම මහා මාත්‍රවරුන් පත් කිරීම

**(ක්‍රියාමාර්ග දෙකක් විස්තර කිරීමට ලකුණු 02 + 03 = 05යි)**

**(iv)** • **අධ්‍යාපනය**
- දියුණු විශ්ව විද්‍යාල පැවතීම (නාලන්දා, වලභි)
- පුළුල් විෂය මාලාවක් පැවතීම
- ගුරු ගෙදර කේන්ද්‍ර කරගත් හා බෞද්ධ ආරාමික අධ්‍යාපනයක් තිබීම

• **සාහිත්‍ය හා කලාව**
- සංස්කෘත සාහිත්‍යය දියුණු වීම
- උසස් සාහිත්‍ය කෘති බිහිවීම (සකුන්තලා, මේඝදූත ආදි)
- ''නවරත්න'' නමින් හැඳින් වූ පඬිවරුන් සිටීම (කාලිදාස)
- මථුරා පිළිම කලාව
- හින්දු දේව ප්‍රතිමා
- අජන්තා එල්ලෝරා චිත්‍ර

**(ඉහත ක්ෂේත්‍රවල ඇති වූ දියුණුව විස්තර කිරීමට ලකුණු 03 + 03 = 06යි)**

7 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




07 ප්‍රශ්නය තෝරාගෙන ඇති පිරිස 71%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමි වේ.

ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 20%ක් ද
ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 29%ක් ද
ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 23%ක් ද
ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 28%ක් ද
ලකුණු ලබාගෙන ඇත.

මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 28%ක් වන අතර, 20%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04ක් හෝ ඊට අඩුවෙනි.




- ⋆ මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 7අතුරෙන් පහසුතාව වැඩි ම අනුකොටස (i) *B* වන අතර එහි පහසුතාව 90%කි. එසේම පහසුතාව අඩු ම කොටස (iv) වන අතර එහි පහසුතාව 46%කි.

වෛදික යුගයේ සිට ගුප්ත යුගය දක්වා ඉන්දියානු ආගමික හා සංස්කෘතික අභිවර්ධනය පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම මෙම ප්‍රශ්නයෙන් අපේක්ෂිත ය.

*(i)* හි A , B හා C අනු කොටස්වල සමස්ථ පහසුතාව 74.7%ක ඉහළ අගයක් ලබා ඇති අතර B කොටස සඳහා 90%ක සුවිශේෂ පහසුතා මට්ටමක් පෙන්වයි. 6 ශ්‍රේණියේ සිට ලෝක ශිෂ්ටාචාර ව්‍යාප්තිය පිළිබඳ දැනුම තිබීම මෙම පහසුතාව ඉහළ අගයක් ගැනීම කෙරෙහි බලපාන්නට ඇත.

මෙම ප්‍රශ්නයේ *(ii)* කොටසට අදාළ ව සමස්ත පහසුතාව 56.5%කි. ආර්යයන්ගේ ආගමික ඇදහිලි පිළිබඳ දැනුම විමසීම මෙම ප්‍රශ්නයට ඇතුළත් වී ඇත. පහළ ශ්‍රේණියේ සිට සිසුන් මෙම කරුණු පිළිබඳ ව මූලික දැනුම ලබා තිබීම වැඩි පහසුතාව සඳහා හේතු වන්නට ඇත.

*(iii)* කොටසට අදාළ ව අශෝක අධිරාජයාගේ ආගමික සේවාවන් පිළිබඳ තොරතුරු සම්බන්ධ දැනුම විමසීම අපේක්ෂිතයි. මෙහි පහසුතාව 62%කි. මෙම ප්‍රශ්නයට අදාළ ව පහසුතා මට්ටම ඉහළ අගයක් ගැනීමට හේතු වී ඇත්තේ අධිරාජයා පිළිබඳ තොරතුරු ලබා ගත හැකි වෙනත් මූලාශ්‍ර ද සුලභ වීමයි. එසේ ම පෙළපොතේ සඳහන් කරුණු මගින් ද නිරවුල් අවබෝධයක් ලබා තිබීම පිටුවහලක් වන්නට ඇත. ශ්‍රී ලංකාවට බුදු දහම රැගෙන ඒම හා බැඳුණු සිදුවීම් ඔස්සේ මෙකී කරුණු නැවත නැවත තහවුරු වීම හේතුවක් වන්නට ඇත.

*(iv)* කොටසට අදාළ ව පහසුතාව 46%ක් වේ. ගුප්ත යුගයේ සාහිත්‍යය, කලාව, අධ්‍යාපනය පිළිබඳ දැනුම විමසීම අපේක්ෂිතයි. ඉන්දියාවේ ගුප්ත යුගයේ අධ්‍යාපනය සාහිත්‍ය සහ කලාව යන ක්ෂේත්‍ර පිළිබඳ දියුණුව නිදසුන් සහිතව පැහැදිළි කිරීම අපේක්ෂා කෙරේ. අසා ඇති ක්ෂේත්‍ර ඔස්සේ කරුණු ඉදිරිපත් කර නොතිබීම අඩු ලකුණු ලැබීමට හේතු වී ඇත.

ගුප්ත යුගයේ වැදගත් රජවරුන් නම් කර, ඔවුන්ගේ කාර්යයභාරය හා සේවාවන් පිළිබඳ සිසුන් දැනුවත් කිරීමෙන් සාධන මට්ටම් ඉහළ නැංවිය හැකි ය.

8 ප්‍රශ්නය

**නිපුණතාව : බ්‍රිතාන්‍ය යටත් විජිත පාලන සමයේ ඉන්දීය ජන නායකයන්ගේ ක්‍රියාකලාපය හා බ්‍රිතාන්‍ය යටත් විජිත ප්‍රතිපත්තිය පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම.**

**8.** (i) *A* - 'කල්කටාවේ ඉන්දියානු සංවිධානය' පිහිටුවීම
*B* - 'ඉන්දියානු ජාතික එකමුතුව' ආරම්භ කිරීම
*C* - ඉන්දියාවේ මුස්ලිම්වරුන්ට වෙනම රාජ්‍යයක අවශ්‍යතාව මුලින් ම පෙන්වාදීම

යන කරුණුවලට සම්බන්ධ පුද්ගලයන් කවුරුන් දැයි වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් දක්වන්න.
(මහත්මා ගාන්ධි, මොහොමඩ් ඉක්බාල්, මොහොමඩ් අලි ජින්නා, ඇලන් ඔක්ටේවියන් හියුම්, කර්සන් සාමි, සුරේන්ද්‍රනාත් බැනර්ජි) (ලකුණු 03 යි)

(ii) ඉන්දියානු ජාතික කොංග්‍රසයේ මූලික අරමුණු **දෙකක්** දක්වන්න. (ලකුණු 04 යි)

(iii) ක්‍රි.ව. 1857 ඉන්දියානු කැරැල්ලට ආසන්නතම හේතුව සඳහන් කොට එම කැරැල්ල අසාර්ථක වීමට බලපෑ හේතු **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 05 යි)

(iv) ක්‍රි.ව. 1947 දී ඉන්දියාව දෙකඩ වීමට බ්‍රිතාන්‍යයන් විසින් අනුගමනය කළ ප්‍රතිපත්ති හේතු වූ ආකාරය කරුණු **දෙකක්** ඇසුරෙන් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

**8. (i)** *A* - සුරේන්ද්‍රනාත් බැනර්ජි
*B* - ඇලන් ඔක්ටේවියන් හියුම්
*C* - මොහොමඩ් ඉක්බාල් **(ලකුණු 01 × 03 = 03යි)**

**(ii)**
* ඉන්දියානුවන් තුළ දේශාභිමානය ඇති කිරීම
* රටේ මහජන මතය සංවිධානය කිරීම
* කුලය, ආගම, ප්‍රදේශය ගැන නොසලකා ජාතික හැඟීම් වර්ධනය කිරීම
* පොදු ජාතික ඉල්ලීම් බ්‍රිතාන්‍යයන් වෙත ඉදිරිපත් කිරීම **(ලකුණු 01 × 04 = 04යි)**

**(iii) ආසන්න හේතුව**
* ග්‍රීස් තැවරූ පතරොම් පිළිබඳ සිද්ධිය

**අසාර්ථක වීමට හේතු**
* සැලැස්මක් නොමැති වීම
* කාර්යක්ෂම නායකත්වයක් නොමැති වීම
* ප්‍රභූ සහය නොලැබීම
* බ්‍රිතාන්‍ය හමුදා ශක්තිය
* පොදු අරමුණක් නොමැති වීම **(ආසන්න හේතුවට ලකුණු 02යි)**

**(කරුණු තුනට ලකුණු 03යි)**
**(මුළු ලකුණු 05යි)**

**(iv)** බ්‍රිතාන්‍යයන් හින්දු මුස්ලිම් භේදය ඇති කිරීම සඳහා බෙදා වෙන් කර පාලනය කිරීමේ ප්‍රතිපත්තිය අනුගමනය කරන ලදී. මේ අනුව
- 1906 දී බෙංගාලය දෙකඩ කිරීම
- 1906 දී ම මුස්ලිම් ලීගය පිහිටු වීමට මුස්ලිම් ජන නායකයන් උනන්දු කරවීම

**(මෙවැනි කරුණු දෙකක් ඇසුරින් විස්තර කිරීමට ලකුණු 03 + 03 = 06යි)**

8 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




08 ප්‍රශ්නය තෝරාගෙන ඇති පිරිස 25%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමි වේ.

ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 58%ක් ද
ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 22%ක් ද
ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 11%ක් ද
ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 9%ක් ද
ලකුණු ලබාගෙන ඇත.

මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 9%ක් වන අතර, 58%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04ක් හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 4 අතුරෙන් පහසුතාව වැඩි ම කොටස (iii) වන අතර එහි පහසුතාව 40%කි. එසේම පහසුතාව අඩු ම කොටස (iv) වන අතර එහි පහසුතාව 18%කි.

බ්‍රිතාන්‍ය යටත් විජිත පාලන සමයේ ඉන්දීය ජනනායකයන්ගේ ක්‍රියා කලාපය හා බ්‍රිතාන්‍ය යටත් විජිත ප්‍රතිපත්තිය පිළිබඳ දැනුම පිරික්සීම මෙම ප්‍රශ්නයෙන් අපේක්ෂිත ය. ප්‍රශ්නය තෝරාගෙන ඇති සංඛ්‍යාව 25%ක් වැනි අඩු සංඛ්‍යාවකි.

ප්‍රශ්නයේ I කොටසින් ඉන්දියාව බ්‍රිතාන්‍යයේ යටත් විජිතයක්ව පැවති සමයේ එරට දේශපාලන කටයුතු හා බඳුන සිද්ධි කිහිපයක් ඉදිරිපත් කොට, එම කටයුතු හ සම්බන්ධ පුද්ගලයන් කවුරුන්දැ යි විමසා බැලේ. ඊට අදාළ පුද්ගල නාම වරහන් තුළ සපයා ඇත්තේ අයදුම්කරුවන්ට ප්‍රශ්නයෙහි පහසුතාව වැඩි කිරීම සඳහා ය. එහෙත් සුවිශේෂ ව පුද්ගල නාම පිළිබඳ නිවැරදි දැනුම අල්ප බැවින්, සාවද්‍ය පිළිතුර අතුරින් නිවැරදි ම පිළිතුර තෝරා ගැනීමට අපොහොසත් ව ඇත. එහි පහසුතාව 33%කි.

ප්‍රශ්න පත්‍රයේ *(iii)* කොටසේ ප්‍රශ්න 4ක් අතරින් තෝරා ගත යුතුව ඇත්තේ ප්‍රශ්න 2ක් නිසා වඩාත් පහසු ප්‍රශ්න තෝරා ගැනීම මෙයට හේතු වන්නට ඇත. තෝරා ගත් සංඛ්‍යාවෙන් ද 58%ක් ම ලකුණු 4 හෝ ඊට අඩුවෙන් ලබා ගෙන ඇත.

වැඩි ම පහසුතාව දක්වා ඇත්තේ *(iii)* කොටසට වන අතර, එහි පහසුතාව 40%කි. *(iv)* කොටස අඩු ම පහසුතාව පෙන්වයි. එනම් 18%කි. මෙම ප්‍රශ්නය තෝරා ගැනීම 25% දක්වා අඩු වීමට හේතු වී ඇත්තේ විෂය කරුණු සංකීර්ණ වීම හා පුළුල් පරාසයක් තුළ විහිදීමත් නිසා විය හැක.

මෙහි *(iii)* වන කොටසට වැඩි ම පහසුතාවය පෙන්වීමට හේතු වී ඇත්තේ බ්‍රිතාන්‍ය පාලනයෙන් මිදීම සඳහා ශ්‍රී ලංකාවේ ද ඉන්දියාවේ ද පැවති සටන් පිළිබඳ සිසුන්ගේ දැනුම ඉහළ මට්ටමක පැවතීමයි. සමස්ථ ප්‍රශ්නයට ම පහසුතාව 50% ට වඩා අඩුය. විශේෂයෙන් අපේක්ෂකයන් මෙම පාඩමට දක්වන අඩු අවධානය පහසුතාව අඩු වීමට බලපාන්නට ඇත.

මෙම මාතෘකාව පිළිබඳ ව ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේ දී අන්තර්ජාලයෙන් තොරතුරු ලබා ගැනීමට ඉඩ සැලසීම සහ අදාළ ක්ෂේත්‍රය පිළිබඳ නිවැරදි තොරතුරු ලබා දීම වැනි ක්‍රියාකාරකම් තුළින් සාධන මට්ටම ඉහළ නැංවීමට කටයුතු කිරීම යෝග්‍ය වේ.

**9 ප්‍රශ්නය**

**නිපුණතාව : යුරෝපීය බලව්‍යාප්තිය පිළිබඳ දැනුම හා විමර්ශනාත්මක ව පිරික්සීම**

**9.** (i) යුරෝපයේ මුලින් ම බිහි වූ ජාතික රාජ්‍ය **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(ii) පහත $A, B, C$ හා $D$ වලින් දැක්වෙන තොරතුරුවලට අදාළ පුද්ගලයන් වරහන් තුළින් තෝරා අනුපිළිවෙළින් ලියා දක්වන්න.

*A* - බටහිර ඉන්දියා දූපත් සොයා ගැනීම

*B* - පළමුවරට අප්‍රිකාවේ දකුණු තුඩුවට යාත්‍රා කිරීම

*C* - පිලිපීන් දූපත් සොයා ගැනීම

*D* - ගුරුත්වාකර්ෂණ නියමය සොයා ගැනීම

(සර් අයිසෙක් නිව්ටන්, ගැලීලියෝ ගැලිලි, ක්‍රිස්ටෝපර් කොළොම්බස්, වස්කෝ ද ගාමා, බර්තොලමියු ඩයස්, මැගලන්, නාවුක හෙන්රි, ෆ්‍රැන්සිස්කෝ ද අල්මේදා) (ලකුණු 04 යි)

(iii) ජාතික රාජ්‍යයක ලක්ෂණ **තුනක්** විස්තර කරන්න. (ලකුණු 05 යි)

(iv) *A* - ස්පාඤ්ඤ ජාතිකයන් ඇමෙරිකානු ප්‍රදේශවල ද

*B* - පෘතුගීසි ජාතිකයන් පෙරදිග ප්‍රදේශවල ද

බලය ව්‍යාප්ත කිරීමේ දී අනුගමනය කළ ක්‍රියාමාර්ග **එක** බැගින් නිදසුන් දක්වමින් පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

**9. (i)** එංගලන්තය (මහා බ්‍රිතාන්‍යය), ස්පාඤ්ඤය, ප්‍රංශය, ඕලන්දය, පෘතුගාලය **(ලකුණු $01 \times 03 = 03$යි)**

**(ii)** *A* - ක්‍රිස්ටෝපර් කොළොම්බස්

*B* - බර්තොලමියු ඩයස්

*C* - මැගලන්

*D* - සර් අයිසෙක් නිව්ටන් **(ලකුණු $01 \times 04 = 04$යි)**

**(iii)**
- ★ පාලන බලය රජු වෙත කේන්ද්‍ර ගත වීම
- ★ රජුට ස්ථිර හමුදාවක් තිබීම
- ★ නව සමාජ පන්ති බිහි වීම
- ★ පොදු නීති පද්ධතියක් හා පොදු බදු ප්‍රතිපත්තියක් පැවතීම
- ★ නව නිලධාරී පන්තියක ආරම්භය හා වර්ධනය

**(මෙවැනි කරුණු තුනක් විස්තර කිරීමට ලකුණු $02 + 03 = 05$යි)**

**(iv)** *A* - මූලික වශයෙන් කෲර මර්දනකාරී ක්‍රියාමාර්ග අනුගමනය

(වස දීම, වෙඩි තැබීම වැනි විනාශකාරී ක්‍රියා)

- පැරණි ශිෂ්ටාචාර විනාශ කොට සම්පත් කොල්ලකෑම (මායා, ඉන්කා)

(උදා :- මැක්සිකෝ හා පීරුවල පැවති පැරණි ශිෂ්ටාචාරය)

*B* - වෙළෙඳ ගබඩා, බලකොටු ඉදි කරමින් බලය ව්‍යාප්ත කිරීම

- මිත්‍රශීලිව කටයුතු කිරීම
- ගිවිසුම් මගින්
- යුධ ආධාර දීමෙන්
- ආගම් ප්‍රචාරය මගින්

**(ක්‍රියාමාර්ග එක බැගින් විස්තර කිරීමට ලකුණු $03 + 03 = 06$යි)**

**9 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :**




09 ප්‍රශ්නය තෝරාගෙන ඇති පිරිස 39%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමි වේ.

| | | | |
|---|---|---|---|
| ඉන් ලකුණු | 00 - 04 | ප්‍රාන්තරයේ | 62%ක් ද |
| ලකුණු | 05 - 09 | ප්‍රාන්තරයේ | 23%ක් ද |
| ලකුණු | 10 - 13 | ප්‍රාන්තරයේ | 8%ක් ද |
| ලකුණු | 14 - 18 | ප්‍රාන්තරයේ | 7%ක් ද |

ලකුණු ලබාගෙන ඇත.

මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 7%ක් වන අතර, 62%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04ක් හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 8 අතුරෙන් පහසුතාව වැඩි ම අනුකොටස (ii) *D* වන අතර එහි පහසුතාව 86%කි. එසේම පහසුතාව අඩු ම කොටස් වන්නේ (iii) සහ (iv) *A* වන අතර එහි පහසුතාව 20% බැගින් වේ.

මෙම ප්‍රශ්නය යුරෝපීය බල ව්‍යාප්තිය පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම සඳහා සැකසී ඇත. 9 (i) කොටසෙහි මුලින් ම බිහි වූ ජාතික රාජ්‍ය තුනක් නම් කිරීමේ හැකියාව පිරික්සයි. එහි පහසුතාව 44%කි.

9 (ii) කොටසෙහි A, B, C වල පහසුතාව පිළිවෙළින් 37%, 32%, 25%ක් වන අතර, D කොටසේ පහසුතාව 86%ක ඉහළ අගයක් පෙන්වයි. මෙම ප්‍රශ්නයට පිළිතුරු වරහන් තුළින් තෝරා ගත යුතු ව ඇත. එසේ වුවද A, B, C කොටස්වලට පිළිතුරු නිවැරදි ව තෝරා ගැනීමට විෂය දැනුම ප්‍රමාණවත් වී නැත. D කොටසට පිළිතුරු සැපයීම පහසුතාව ඉතා ඉහළ අගයක් ගැනීමට හේතු වී ඇත්තේ විද්‍යා විෂයය හරහා ලබා ගත් දැනුම විය හැකි ය.

9 (iii) කොටසේ පහසුතාව 20%කි. ජාතික රාජ්‍යයක ලක්ෂණ විමර්ශනය කරන අතර, පෙළපොතේ ඇතුළත් කරුණු ග්‍රහණය කර ගෙන නොතිබීම අඩු පහසුතා මට්ටමට හේතු විය හැක. විෂය කරුණු සවිස්තරාත්මකව ඉදිරිපත් කිරීමේ දුර්වලතාව පිළිතුරු පත් ඇගයීමේ දී දක්නට ලැබුණි.

9 (iv) කොටසේ සමස්ථ පහසුතාව 21.5%කි. ප්‍රශ්නය නිවැරදි ව අවබෝධ කර නොගෙන පිළිතුරු සැපයීම මෙම දුර්වලතාවයට හේතු වී ඇත.

පෙළ පොත භාවිතයට ගැනීම, ආධාරක මගින් ඉගැන්වීම් කටයුතු කිරිම සහ විෂය ක්ෂේත්‍රය පිළිබඳ විවිධ මූලාශ්‍රය ආශ්‍රයෙන් තොරතුරු රැස් කිරීම සඳහා ශිෂ්‍යයන් පෙලඹවීම සිදු කිරීමෙන් ඉහළ සාධන මට්ටමක් ඇති කළ හැකි ය.

10 ප්‍රශ්නය

**නිපුණතාව : ලෝක සංග්‍රාමවලට පසුබිම් වූ හේතු හා ඒවායින් ලැබූ ප්‍රතිඵල ලෙස තුළනාත්මක ව පිරික්සීම**

**10.** (i) පළමුවැනි ලෝක මහා සංග්‍රාමයට

*A* - බලපෑ ආසන්නතම හේතුව

*B* - සම්බන්ධ වූ ජර්මන් පාලකයාගේ නම

*C* - ඇමෙරිකා එක්සත් ජනපදය සම්බන්ධවීමට බලපෑ හේතුව ද

ලියා දක්වන්න. (ලකුණු 03 යි)

(ii) දෙවැනි ලෝක මහා සංග්‍රාමයේ දී

*A* - මිත්‍ර පක්ෂයට නායකත්වය දුන් බ්‍රිතාන්‍ය අගමැති

*B* - හිට්ලර්ගේ කෲර වධ හිංසාවලට ලක් වූ ජනවර්ගය

*C* - ජපනුන් අල්ලාගත් පෙරදිග මිත්‍ර පක්ෂයේ ප්‍රධාන ආරක්ෂක මධ්‍යස්ථානය

*D* - ඉතාලිය යුද්ධයට මෙහෙය වූ එහි පැසිස්ට් නායකයා

වරහන් තුළින් තෝරා *A, B, C* හා *D* අනුපිළිවෙළින් ලියා දක්වන්න.

(හිරෝහිතෝ අධිරාජයා, මුසෝලිනී, යුදෙව්, ස්ලාව්, සිංගප්පූරුව, කල්කටා, වින්ස්ටන් චර්චිල්, ක්ලෙමන්ට් ඇට්ලි) (ලකුණු 04 යි)

(iii) දෙවැනි ලෝක මහා සංග්‍රාමය මෙතෙක් ලොව ඇති වූ දරුණුතම ව්‍යසනය බව කරුණු **දෙකක්** ඇසුරෙන් පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

(iv) දෙවැනි ලෝක මහා සංග්‍රාමයෙන් පසුව ලෝක දේශපාලනයේ ඇති වූ වෙනස්කම් **තුනක්** විස්තර කරන්න. (ලකුණු 06 යි)

**10. (i)** *A* - සරයේවෝ සිද්ධිය

*B* - දෙවන විලියම් කයිසර් රජු

*C* - ලුසිටානියා නැව ගිල්වීම **(ලකුණු 01 × 03 = 03යි)**

**(ii)** *A* - වින්ස්ටන් චර්චිල්

*B* - යුදෙව්

*C* - සිංගප්පූරුව

*D* - මුසෝලිනි **(ලකුණු 01 × 04 = 04යි)**

**(iii)**
- ★ අති මහත් ජීවිත විනාශය
- ★ දේපල විනාශය
- ★ ලක්ෂ සංඛ්‍යාත ජන සංඛ්‍යාවක් අවතැන් වීම
- ★ න්‍යෂ්ටික බෝම්බ භාවිතය
- ★ පරිසර දූෂණය හා විනාශය **(කරුණු දෙකක් ඇසුරින් විස්තර කිරීමට ලකුණු 02 + 03 = 05යි)**

**(iv)**
- ★ යටතේ විජිතයන්ට නිදහස ලැබීම (ශ්‍රී ලංකාව, ඉන්දියාව)
- ★ පැරණි අධිරාජ්‍යවාදී රටවල බලය හීන වී යාම (බ්‍රිතාන්‍ය, ප්‍රංශය)
- ★ ලෝකය බල කඳවුරු දෙකකට බෙදීම (ඇමෙරිකා එක්සත් ජනපදය හා සෝවියට් රුසියාව)
- ★ ජර්මනිය දෙකඩ වීම
- ★ නව රාජ්‍ය බිහි වීම (ඊශ්‍රායලය, යුගෝස්ලේවියාව)
- ★ එක්සත් ජාතීන්ගේ සංවිධානය බිහි වීම
- ★ නිරවි යුද්ධය (සීතල යුද්ධය) **(වෙනස්කම් තුනක් විස්තර කිරීමට ලකුණු 03 + 03 = 06යි)**

10 ප්‍රශ්නයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




10 ප්‍රශ්නය තෝරාගෙන ඇති පිරිස 60%කි. මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 18ක් හිමි වේ.

ඉන් ලකුණු 00 - 04 ප්‍රාන්තරයේ 29%ක් ද
ලකුණු 05 - 09 ප්‍රාන්තරයේ 31%ක් ද
ලකුණු 10 - 13 ප්‍රාන්තරයේ 22%ක් ද
ලකුණු 14 - 18 ප්‍රාන්තරයේ 18%ක් ද
ලකුණු ලබාගෙන ඇත.

මෙම ප්‍රශ්නය සඳහා ලකුණු 14ක් හෝ ඊට වැඩියෙන් ලබාගත් පිරිස 18%ක් වන අතර, 29%ක් ලබාගෙන ඇත්තේ ලකුණු 04ක් හෝ ඊට අඩුවෙනි.




මෙම ප්‍රශ්නයට අයත් අනුකොටස් 9 අතුරෙන් පහසුතාව වැඩි ම අනුකොටස (i) *A* වන අතර එහි පහසුතාව 75%කි. එසේම පහසුතාව අඩු ම කොටස (i) *B* වන අතර එහි පහසුතාව 9%කි.

ලෝක සංග්‍රාම ඇති වීමට බලපෑ හේතු හා ඉන් ඇති වූ ප්‍රතිඵල ලෙස තුලනාත්මක ව පිරික්සීම මෙම ප්‍රශ්නයෙන් අපේක්ෂිතයි.

මෙම ප්‍රශ්නයේ *(i)* කොටසින් පළමුවන ලෝක සංග්‍රාමයට අදාළ තොරතුරු ඇසුරෙන් දැනුම පිරික්සා බැලේ. *(i)* A හා C කොටස්වල පහසුතාව 50% ඉක්මවා ඇත. ඉහළ මට්ටමක පැවතීමට හේතුව, ලෝක සංග්‍රාමයේ සිද්ධීන් පිළිබඳ ව සිසුන් නිවැරදි ව ග්‍රහණය කරගෙන තිබීම නිසා බව පෙනේ. B කොටසට අඩු ම පහසුතාව ලැබෙන්නේ යුද්ධයට සම්බන්ධ පුද්ගල නාමය නිවැරදි ව නම් කිරීමට නොහැකි වීම නිසා ය. එම කොටසේ පහසුතාව 9%ක තරම් අඩු මට්ටමකි.

*(ii)* කොටසට අදාළ ව පහසුතාව A, B, සහ D පිළිවෙළින් 72%, 73%, 74%ක් වන අතර, C 30%ක අඩු පහසුතාවක් පෙන්නුම් කරයි. මෙම ප්‍රශ්නයට පිළිතුරු වරහන් තුළින් තෝරා ගැනීමට ඉඩ සලසා ඇත. ලෝක ඉතිහාසයේ ජනප්‍රිය මාතෘකාවක් වීම හා සිසුන්ගේ සුවිශේෂී අවධානයට යොමු වීම ඉහළ පහසුතාව කෙරෙහි බලපා ඇත. නමුත් Cවලින් අපේක්ෂිත පිළිතුර තෝරා ගැනීමේ දී ගැටලු සහගත බවක් ඇති වීම අඩු පහසුතාව කෙරෙහි හේතු වී ඇත.

*(iii)* කොටසට 55%ක පහසුතාව පෙන්නුම් කෙරේ. මෙහි දී දෙවන ලෝක සංග්‍රාමයෙන් ලොව ඇති වූ ව්‍යසනය පිළිබඳ දැනුම විමසා බැලීම සිදු කෙරේ. මෙම ප්‍රශ්නයෙන් අපේක්ෂිත කරුණු පෙළ පොතින් පමණක් නොව වෙනත් මූලාශ්‍රයන්ගෙන් ද ලබා ගත හැකි වීම පහසුතාව ඉහළ මට්ටමක පැවතීමට හේතු වන්නට ඇත.

*(iv)* කොටසෙහි පහසුතාව 42%කි. එහි දී දෙවන ලෝක යුද්ධය නිමා වීමෙන් පසු ලෝක දේශපාලනයෙහි ඇති වූ වෙනස්කම් පිළිබඳ දැනුම පිරික්සා ඇත. මෙම ඓතිහාසික කරුණු පිළිබඳ ව පෙළපොත තුළ පැහැදිලි කරුණු රාශියක් ඇතුළත් වුව ද එය ආශ්‍රයෙන් පිළිතුරු සකස් කර ගැනීමේ හැකියාව නොමැති කම පහසුතාව අඩු වීමට හේතු වූවා විය හැකි ය.

එම නිසා ලෝක සංග්‍රාම පිළිබඳ ඉගෙනුම් ක්‍රියාවලියේ දී එකිනෙක සංසන්දනාත්මකව කරුණු පෙළ ගැස්වීම හා පැවරුම් ආශ්‍රයෙන් සුවිශේෂී කරුණු කෙරේ විස්තර සැපයීමට සිසුන් පෙළඹවීම අවශ්‍යව ඇත. දෛනිකව රට හා ලොව තුළ ක්‍රියාත්මක වන දේශපාලන තත්වයට පසුබිම ද, ඉහත කරුණු ප්‍රායෝගිකව සිදු වන බව කාලීන තේමාවන් ඔස්සේ සාකච්ඡා කිරීම විෂය දැනුම තහවුරු කිරීමට හේතු වේ.

2.2.3 II ප්‍රශ්න පත්‍රයට පිළිතුරු සැපයීම පිළිබඳ සමස්ත නිරීක්ෂණ, නිගමන හා යෝජනා :




**I කොටස**

පළමුවන කොටසට පළමු ප්‍රශ්නය පමණක් අයත් වන අතර, එය අනිවාර්ය වේ. මෙම ප්‍රශ්නය සකස් වී ඇත්තේ (අ) (i), (ii) හා (ආ) (i), (ii) හා (iii) යන අනුකොටස් වලිනි. මෙම ප්‍රශ්නයට ලකුණු 30ක් හිමි වේ. ලංකා ඉතිහාසයට අදාළ තොරතුරු නියෝජනය වන්නේ (අ) (i), (ආ) (i) A, (ii) 1, 2, 3, 4 සහ (iii) 1, 2, 3 හා 4 යන අනුකොටස්වලින් ය. ලෝක ඉතිහාසයට අදාළ තොරතුරු නියෝජනය වන්නේ (අ) (ii), (ආ) (i) B, C හා D, යන අනුකොටස්වලින්ය. පළමු ප්‍රශ්නයේ පහසුතාව ලංකා ඉතිහාසයට 42%ක් හා ලෝක ඉතිහාසයට 32%ක් වේ.

ලංකා ඉතිහාසය හා සම්බන්ධ ප්‍රශ්න අතරින් වැඩි ම පහසුතාව දක්වා ඇත්තේ (ආ) කොටසේ (iii) 1 අනුකොටසට ය. එය 79%කි. එයින් විමසා බැලෙන්නේ ශ්‍රී ලංකාවේ රජරට රාජධානි සමයේ වාස්තු විද්‍යාව හා සම්බන්ධ දොරටුපාල රූපය පිළිබඳ තොරතුරු ය. වර්තමානයේ ද බොහෝ පූජනීය ස්ථානවල මෙම රූපය, කලා කෘතියක් ලෙස නෙත ගැටීමට අවස්ථාව සැලසී ඇත. එය නම් කිරීමට හැකි වීම ඉහත ප්‍රශ්නයට වැඩි පහසුතාවක් හිමි කර ගැනීමට හේතු වන්නට ඇත.

ලෝක ඉතිහාස කොටසින් වැඩි ම පහසුතාව හිමි කර ගෙන ඇත්තේ (ආ) (i) D අනු කොටසට ය. එය 77%කි. ඉන් විමසා ඇත්තේ දුරකථනය නිර්මාණයට දායක වූ ඇමෙරිකන් ජාතිකයාගේ නම පමණි. පහළ ශ්‍රේණිවල විද්‍යා විෂයයෙන් ද, සාමාන්‍ය දැනුමෙන් ද, පුවත්පත් හා වෙනත් සන්නිවේදන මාධ්‍යයන් මගින් ද, ක්‍රීඩා හා විනෝද කටයුතු සඳහා විවිධ ආකෘති නිර්මාණයේ දී ද, මෙම නාමය සිහිපත් කිරීම පහසුතාව ඉහළ අගයක් ගැනීමට හේතු වන්නට ඇත.

ලංකා ඉතිහාසය කොටසේ අඩු ම පහසුතාව හිමි කරගෙන ඇත්තේ (ආ) (ii) 4 අනුකොටසට ය. මෙයින් විමසා බැලෙන්නේ සපයා ඇති රූපය ඇසුරෙන් (සත්මහල් ප්‍රාසාදය) බිත්තිවල ආරුක්කුවල ඇති දෑ සම්බන්ධව යි. ක්ෂේත්‍ර චාරිකාවක දී වුව ද සුවිශේෂී ව මෙම තොරතුරු ග්‍රහණය කර ගැනීමට නොහැකි වීමත්, පෙළපොතේ ඇති පින්තූරවල එම කොටස ඉස්මතු නොවීමත්, අඩු පහසුතාව කෙරෙහි හේතු වන්නට ඇත.

ලෝක ඉතිහාසය කොටසේ අඩු ම පහසුතාව හිමි කරගන්නේ (ආ) (i) C අනුකොටසටය. එයින් විමසා බැලෙන්නේ ඉන්දියාව හා බ්‍රිතාන්‍ය සම්බන්ධ කොටගෙන දේශපාලනය හා බැඳුණු තොරතුරකි. රටවල් දෙක සම්බන්ධ ව කාල වකවානු, පුද්ගල නාම සම්බන්ධ දැනුමේ ඌණතාවය අඩු පහසුතාවට හේතු වන්නට ඇත.

සිතියම් ලකුණු කිරීම හා සම්බන්ධ පහසුතාව ලංකාව හා ලෝකයේ කොටස් දෙකේම 30%ට අඩු ය. සිතියම් ලකුණු කිරීමේ දී සිතියම් විද්‍යාවට අදාළ මූලික සිද්ධාන්ත පිළිබඳ අවබෝධය අඩුකමත්, ඒ සඳහා ශිෂ්‍ය අවධානය යොමු නොවීමත්, නිශ්චිත ව ස්ථාන නම් නොකිරීමත් මෙහි දී දක්නට ලැබෙන පොදු දුර්වලතා වේ. සිතියම් ලකුණු කර, නම් කිරීමේ අභ්‍යාසවල යෙදවීම, එම ස්ථානවල පිහිටීම, භෞතික ලක්ෂණ හා සම්බන්ධ කොට ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේ දී ප්‍රයෝජනයට ගැනීම, පන්ති කාමර මට්ටමින් සිදු විය යුතු ය. I කොටසේ II හා III අනුකොටස්වල සම්බන්ධ පින්තූර ආශ්‍රිත ව ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේ දී පාඩමට ප්‍රවේශයක් ලෙස එක් දිනක දී පින්තූරයක් බැගින් සුවිශේෂී ව අධ්‍යයනයට යොමු කිරීමත් යෝග්‍ය වේ.

## II කොටස

ලංකා ඉතිහාසයට අදාළ ව පහසුතාව 48%කි. මෙම කොටසේ ප්‍රශ්න 05ක් ඇත. පිළිතුර සැපයිය යුත්තේ ඉන් ප්‍රශ්න 03කට පමණි. ප්‍රශ්න තෝරා ගැනීම 2 සිට 6 වන ප්‍රශ්න දක්වා පිළිවෙළින් 88%, 78%, 48%, 59% හා 29% ආදි වශයෙනි. මෙහි වැඩි තෝරා ගැනීමක් පෙන්වන්නේ 02වන ප්‍රශ්නය යි. ඉන් විමසා බැලෙන්නේ අනුරාධපුර යුගයේ, වාරි කටයුතු, මධ්‍ය පාලනය හා පරිහානිය පිළිබඳ දැනුමයි. සරල බවත්, නිරවුල් ව පිළිතුරු සැපයීමට හැකියාව තිබීමත්, සිසුන් වැඩි ප්‍රමාණයක් මෙම ප්‍රශ්නය තෝරා ගැනීමට හේතු වන්නට ඇත. මෙම කොටසින් අඩු ම තෝරා ගැනීම සිදු ව ඇත්තේ 06වන ප්‍රශ්නය යි. එය 29%කි. මෙම ප්‍රශ්නයෙන් බ්‍රිතාන්‍ය යුගයේ දී ඇති වූ දේශපාලනික, සංස්කෘතික වෙනස් වීම් පිළිබඳ දැනුම ද නිදහසින් පසු මෙරට ඇති වූ අධ්‍යාපන සංවර්ධනය විමසීමේ හැකියාව පිරික්සා බැලේ. මෙම ප්‍රශ්නයට වඩා පහසු ප්‍රශ්න තෝරා ගැනීමට ඉඩ ප්‍රස්තාව තිබීමත්, ජනප්‍රිය තේමාවක් නොවීමත් නිසා අඩු තේරීමක් සිදු ව ඇත.

## III කොටස

ලෝක ඉතිහාස කොටසේ පහසුතාව 41%කි. එහි ප්‍රශ්න 07 සිට 10 දක්වා ප්‍රශ්න 04හි තෝරා ගැනීම පිළිවෙළින් 71%, 25%, 39% හා 60% වේ. මෙම ප්‍රශ්න අතරින් වැඩි ම තේරීම වන්නේ 07 වන ප්‍රශ්නය යි. එයට 70%ක් තරම් ඉහළ ප්‍රතිචාරයක් දක්වා ඇත. අඩු ම තේරීමක් සහිත ප්‍රශ්නය වන්නේ 08 වන ප්‍රශ්නය යි. එය 25%කි. 07 වන ප්‍රශ්නය මගින් විමසා බැලෙන්නේ ඉන්දියාවේ වෛදික යුගයේ සිට ගුප්ත යුගය දක්වා ආගමික සංස්කෘතික අභිවර්ධනය යි. සෑම වසරක දී ම මෙම තේමාව ප්‍රශ්නයකට ඇතුළත් ව තිබීමත්, ශ්‍රී ලංකාවේ සංස්කෘතියට සබඳකම් පැවතීමත් නිසා මෙම ප්‍රශ්නය ජනප්‍රිය වන්නට ඇත. මෙහි ජනප්‍රිය බවින් අඩු ම ප්‍රශ්නය වන්නේ 08 වන ප්‍රශ්නය යි. යටත් විජිත පාලන සමයේ ඉන්දීය ජනනායකයින්ගේ ක්‍රියාකලාපයන් පිළිබඳ දේශපාලන පසුබිම හා බැඳුණු සංසිද්ධීන් විමසා බැලේ. කාලය, පුද්ගල චරිත පිළිබඳ ස්මරණ ශක්තිය අඩුකම නිසාත්, මීට වඩා පහසු ප්‍රශ්න තෝරා ගැනීමේ ඉඩකඩ තිබීම නිසාත්, මෙම ප්‍රශ්නය තෝරා ගැනීම අඩු වන්නට ඇත. මෙම ප්‍රශ්නය තෝරා ගත් අයදුම්කරුවන් ද ලබා ඇත්තේ අඩු ලකුණු ප්‍රමාණයකි.

## III කොටස

3 **පිළිතුරු සැපයීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු හා යෝජනා :**

3.1 **පිළිතුරු සැපයීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු :**

**පොදු උපදෙස් :**

★ ප්‍රශ්න පත්‍රයේ දී ඇති මූලික උපදෙස් කියවා හොඳින් තේරුම් ගෙන පිළිතුරු සැපයිය යුතුය. එනම් එක් එක් කොටසින් කොපමණ ප්‍රශ්න සංඛ්‍යාවකට පිළිතුරු සැපයිය යුතු ද, කුමන ප්‍රශ්න අනිවාර්ය ද, කොපමණ කාලයක් ලැබේ ද, කොපමණ ලකුණු ලැබේ ද, යන කරුණු පිළිබඳව සැලකිලිමත් විය යුතු අතර ප්‍රශ්න හොඳින් කියවා නිරවුල් අවබෝධයක් ඇති කර ගෙන ප්‍රශ්න තෝරා ගත යුතුය.

★ I පත්‍රයේ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී නිවැරදි හෝ වඩාත් ගැළපෙන හෝ පිළිතුර තෝරා ගත යුතුය. තවද පැහැදිලිව එක් කතිර ලකුණක් පමණක් යෙදිය යුතුය.

★ II පත්‍රයේ ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමේදී සෑම ප්‍රශ්නයක් ම අලුත් පිටුවකින් ආරම්භ කළ යුතුය.

★ නිවැරදි හා පැහැදිලි අත් අකුරුවලින් පිළිතුරු ලිවිය යුතුය.

★ අයදුම්කරුගේ විභාග අංකය සෑම පිටුවකම අදාළ ස්ථානයේ ලිවිය යුතුය.

★ ප්‍රශ්න අංක, කොටස් අංක හා අනුකොටස් අංක නිවැරදිව ලිවිය යුතුය.

★ නිශ්චිත කෙටි පිළිතුරු ලිවීමට අවශ්‍ය අවස්ථාවලදී දීර්ඝ විස්තර ඇතුළත් නොකිරීම මෙන්ම විස්තරාත්මක පිළිතුරු සැපයිය යුතු අවස්ථාවලදී කෙටි පිළිතුරු සැපයීම ද නොකළ යුතුය.

★ ප්‍රශ්නය අසා ඇති ආකාරය අනුව තර්කානුකූලව හා විශ්ලේෂණාත්මකව කරුණු ඉදිරිපත් කළ යුතුය.

★ II පත්‍රයේ එකිනෙක කොටස්වලින් නියමිත ප්‍රශ්න සංඛ්‍යාවට පමණක් පිළිතුරු සැපයීමට කාලය මිඩංගු කළ යුතු අතර, වැඩිපුර ප්‍රශ්නවලට පිළිතුරු සැපයීමට කාලය වැය නොකළ යුතුය.

**විශේෂ උපදෙස් :**

★ සිතියම් ලකුණු කිරීමේ දී සැලකිලිමත් විය යුතු කරුණු :
- නගර ලකුණු කිරීමේ දී නිවැරදි ස්ථානය පැහැදිලිව තිත් ලකුණක් යොදා ලකුණු කර නම් කිරීම
- වැව් ලකුණු කිරීමේ දී නිවැරදි වැව තෝරාගෙන මායිම් තුළ ප්‍රදේශය අඳුරු කර නම් කිරීම
- ගංගා සහ කඳුවැටි ලකුණු කිරීමේ දී නිවැරදිව හඳුනාගත හැකිවන ලෙස නම් කිරීම

★ අසා ඇති ප්‍රශ්නවලට උචිත පරිදි පිළිතුරු ඉදිරිපත් කිරීම

★ කරුණු දැක්වීම හා ඒවා පැහැදිලි කිරීම, විස්තර කිරීම හෝ සනාථ කිරීම අනුව ප්‍රශ්නවල ලකුණු බර තබා ඇති බව තේරුම් ගැනීම

★ ව්‍යුහගත රචනා වර්ගයේදී නිදසුන් හා සාධක ඉදිරිපත් කළ යුතු වීම

★ පිළිතුරු ලිවීමේ දී ඇගයීමේ පහසුව සඳහා අවශ්‍ය තැන්හි ඡේද වෙන් කළ යුතු වීම

★ අනුපිළිවෙළින් පිළිතුරු නම් කිරීම කළ යුතු අවස්ථාවලදී ඒ සඳහා සැලකිලිමත් වීම

**විදුහල්පතිවරුන් උදෙසා උපදෙස් :**

★ විෂය සංවර්ධනය සඳහා වාර්ෂික සැලසුම් සකස් කිරීමට හා ඒවා ක්‍රියාත්මක කිරීමට අවශ්‍ය මගපෙන්වීම හා අනුග්‍රහය තවදුරටත් පුළුල් අයුරින් ලබා දිය යුතු ය.

★ විෂය සංවර්ධනය සඳහා අභ්‍යන්තර ඇගයීම් හා අධීක්ෂණ ක්‍රියාවලිය යාවත්කාලීනව සැලසුම් කර සංවිධානාත්මකව පවත්වාගෙන යා යුතු ය.

★ ගුරුවරුන්ගේ විෂය සංවර්ධනය සඳහා කොට්ඨාස, කලාප හා අමාත්‍යාංශ මට්ටමින් පවත්වන වැඩමුළු සඳහා සෑම ගුරුභවතකු ම සහභාගී කරවීමට කාරුණික විය යුතු ය.

★ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලිය තවදුරටත් සංවර්ධනය කිරීම සඳහා පාසල් පාදක ගුරු සංවර්ධන වැඩසටහන් සැලසුම් කර ක්‍රියාත්මක කිරීමට අවශ්‍ය පියවර ගත යුතු ය.

★ කාලසටහන් ලබා දීමේ දී විෂය ප්‍රවීණතාවය සහිත ගුරුභවතුන්ට මූලිකත්වය ලබා දීම අත්‍යාවශ්‍ය ය.

★ ගුරුභවතුන්ට තම විෂය පිළිබඳ වගකීම පැවරෙන පරිදි විෂය මාලාව ක්‍රියාත්මක කිරීම අවස්ථාව ලබා දීම. (එක් ශිෂ්‍ය කණ්ඩායමක් වසර කීපයක් එක් ගුරුභවතකුගේ විෂය භාරකාරත්වයට සම්බන්ධ කිරීම)

★ වාර්ෂිකව ත්‍යාග, සහතිකපත් ලබා දීම වැනි ක්‍රියාමාර්ග පිළිබඳව අවධානය තවදුරටත් යොමු කරවීම

★ ඉතිහාසය විෂය සංවර්ධනය සඳහා පාසලේ පවතින සම්පත්වලට ගැළපෙන පරිදි ස්ථානයක්, උපකරණ, ආශ්‍රිත ග්‍රන්ථ, සිතියම් ලබා දීම ආදි අවශ්‍ය පියවර ගැනීමට තවදුරටත් කාරුණික විය යුතු ය.

★ විවිධ විෂයයන් සඳහා පුහුණුව හෝ පත්වීම් ලැබූ ගුරුභවතුන්ගේ කාල සටහන සම්පූර්ණ කිරීමේ අපේක්ෂාවෙන් ඉතිහාසය විෂය ඉගෙනුම් ඉගැන්වීම් හා ඇගයීම් සඳහා යොමු නොකළ යුතු ය. එය විෂයට මෙන්ම සිසුන්ට ද කරන බලවත් හානියකි.

**විෂයභාර ගුරුභවතුන්ට උපදෙස් :**

★ අ.පො.ස.(සා.පෙළ)ට නියමිත විෂය නිර්දේශය ආවරණය වන පරිදි ඉගෙනුම් ඉගැන්වීම් සැලසුම් කර ක්‍රියාත්මක කළ යුතු ය.

★ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේ දී ගුරු මාර්ගෝපදේශ සංග්‍රහය පරිශීලනය කරමින් එය ද ඉගෙනුම් උපකරණයක් වශයෙන් භාවිත කිරීමට වඩාත් අවධානය යොමු කරවීම.

★ ඉගෙනුම් ඉගැන්වීම් ක්‍රියාවලියේ දී ඒ ඒ නිපුණතාවයන්ට හා විෂය සන්ධාරයට අදාළ යෝග්‍යතම ඉගෙනුම් ක්‍රමවේද තෝරා ගත යුතු ය.

★ හැකිතාක් දුරට ඉගෙනුම් ආධාරක තුළින් සංකල්ප සාධනයට අවස්ථා සලසා දිය යුතු ය.

★ අ.පො.ස.(සා.පෙළ) විභාගය සම්බන්ධව ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුවේ පර්යේෂණ හා සංවර්ධන ශාඛාව මගින් සකස් කොට ඇති ඇගයීම් වාර්තා පරිශීලනය කොට එය විෂය සංවර්ධනය සඳහා යොදා ගත යුතු ය.

★ අඩු සාධන මට්ටම් පෙන්නුම් කෙරෙන විෂය කොටස් සඳහා සාධන මට්ටම සංවර්ධනය කිරීමට විශේෂ වැඩමුළු, කඳවුරු, ව්‍යාපෘති, පැවරුම් වැනි ක්‍රියාකාරකම් යොදා ගත හැකිය.

## 3.2 ඉගෙනුම් හා ඉගැන්වීම් ක්‍රියාවලිය පිළිබඳ අදහස් හා යෝජනා :

★ ඉගෙනුම් ඉගැන්වීම් හා ඇගයීම් ක්‍රියාවලිය තුළින් ප්‍රතිඵල සංවර්ධනය සඳහා

- ඉගෙනුම් ආධාරක භාවිත කිරීම
- විෂය ක්‍රියාකාරකම් ප්‍රබෝධ ජනක අයුරින් සංවිධානය කිරීම
- සැලසුම් කරන ලද ක්‍ෂෙත්‍ර චාරිකා සංවිධානය කිරීම
- විශේෂයෙන්ම පෙළපොත පරිහරණය සඳහා යොමු කිරීම
- සිසු නිර්මාණ (විෂයයට අදාළ) පන්තියේ ප්‍රදර්ශනය කිරීම ( බිත්ති පුවත්පත්, සඟරා, ප්‍රහේලිකා, කෙටි ප්‍රශ්න හා පිළිතුරු සංග්‍රහ සකස් කිරීම)
- ඉතිහාසය විෂයය සඳහා කාමරයක්/ ප්‍රදේශයක් වෙන් කර සංවර්ධනය කිරීම
- විවෘත ග්‍රන්ථ පරීක්ෂණවලට යොමුකොට කරණු ගවේෂණය කිරීම
- ආධාරක වශයෙන් නිවැරදි සිතියම් භාවිත කිරීම හා සිතියම් සංග්‍රහ සකස් කරවීම
- පිළිතුරු ලිවීමේ දී කරුණු සංවිධානය, ප්‍රගුණ කිරීමේ අභ්‍යාස කරවීම
- ගමෙහි/ ප්‍රදේශයෙහි/ රටෙහි ඓතිහාසික ස්ථාන හා සිදුවීම් ජනප්‍රවාද ඇසුරෙන් සොයා බැලීමට යොමු කිරීම
- රූපවාහිනී/ ගුවන්විදුලි/ පුවත්පත්වල අධ්‍යාපනික වැඩසටහන් සාකච්ඡා සහ ලිපිවලින් තොරතුරු රැස් කිරීමට යොමු කිරීම.
  (නිද - මහා සංචාරේ, වන්දනා, සති අන්ත පුවත්පත්වල පළවන විශේෂ අතිරේක)
- ප්‍රවීන දේශකයන්ගේ උදව් උපකාර ලබා ගැනීම
- බුද්ධි මණ්ඩල සාකච්ඡා, විවිධ පාසල් තුළ හා පාසල් අතර සංවිධානය